# සිංහල

## කියවීම් පොත

### 4 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා

ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා

අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා

පිළිගනු මැන අප භක්ති පූජා

නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා

ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති

ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ

ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ

නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා

ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා

එක මවකගෙ දරු කැල බැවිනා

යමු යමු වී නොපමා

ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමග මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතර ම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරු දැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

| | | |
|---|---|---|
| පී. එන්. අයිලප්පෙරුම | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## මෙහෙයවීම

| | | |
|---|---|---|
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සම්බන්ධීකරණය

| | | |
|---|---|---|
| ප්‍රගීතිකා ජයසේකර | - | නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සහාය සම්බන්ධීකරණය

| | | |
|---|---|---|
| ප්‍රදීප් ඉඳුනිල් පියරත්න | - | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ඩී. එම්. මල්කා මිලානි | - | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සංස්කාරක මණ්ඩලය

| | | |
|---|---|---|
| ජේ. බී. දිසානායක | - | සම්මානිත මහාචාර්ය |
| එම්. ආර්. ඩබ්ලිව්. මද්දුම | - | අධ්‍යක්ෂ,<br>මුල් ළමාවිය හා ප්‍රාථමික අධ්‍යාපන දෙපාර්තමේන්තුව,<br>ජාතික අධ්‍යාපන ආයතනය,<br>මහරගම. |
| ජේ. ඒ. නිර්මලා දමයන්ති ජයසිංහ | - | කථිකාචාර්ය,<br>මුල් ළමාවිය හා ප්‍රාථමික අධ්‍යාපන දෙපාර්තමේන්තුව,<br>ජාතික අධ්‍යාපන ආයතනය,<br>මහරගම. |
| ඒ. ඩී. බාලපටබැඳිගේ | - | සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ,<br>ප්‍රාථමික අධ්‍යාපන ශාඛාව,<br>අධ්‍යාපන අමාත්‍යාංශය. |

## ලේඛක මණ්ඩලය

| | | |
|---|---|---|
| එච්. පී. සුසිල් සිරිසේන | - | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>හාපිටිගම විද්‍යාපීඨය,<br>මීරිගම. |
| ඩබ්ලිව්. කරුණාරත්න | - | කථිකාචාර්ය,<br>ගිරාගම ගුරු මධ්‍යස්ථානය, ගිරාගම,<br>පිළිමතලාව. |
| ඩබ්ලිව්. එම්. රෝහිණී චිත්‍රලතා | - | ප්‍රාථමික ගුරු උපදේශක,<br>කලාප අධ්‍යාපන කාර්යාලය,<br>ගිරිඋල්ල, වයඹ පළාත. |
| විපුලි නිරෝෂිණී හෙට්ටිආරච්චි | - | රාජ්‍ය සම්මාන ලාභී ලේඛිකා<br>(ළමා සාහිත්‍යය) |
| තනූජා නිශාන්ති අයගම | - | රාජ්‍ය සම්මාන ලාභී ලේඛිකා<br>(ළමා සාහිත්‍යය) |
| පී. වයි. දිනේෂ් ධම්මික කුමාර | - | ගුරු සේවය,<br>ධර්මාශෝක විදුහල,<br>අම්බලන්ගොඩ. |

## භාෂා සංස්කරණය

| | | |
|---|---|---|
| පූජ්‍ය මොරකන්දේගොඩ අරියවංස හිමි | - | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,<br>රුහුණ විශ්වවිද්‍යාලය. |

## සෝදු පත් කියවීම

| | | |
|---|---|---|
| ජයත් පියදසුන් | - | කර්තෘ මණ්ඩලය, සිළුමිණ,<br>ලංකාවේ සීමාසහිත එක්සත් ප්‍රවෘත්ති<br>පත්‍ර සමාගම. |

## චිත්‍ර හා පිටකවර නිර්මාණය

| | | |
|---|---|---|
| සමන් කළුබෝවිල | - | ගුරු සේවය,<br>අනුර මධ්‍ය මහා විද්‍යාලය,<br>යක්කල. |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැකසුම

| | | |
|---|---|---|
| එස්. වී. ජී. එරංගා දිල්රුක්ෂි | - | පරිගණක අංශය,<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව. |

# පටුන

# 1 අකුරු සමග සෙල්ලම්

"ආයුබෝවන් දරුවනේ!"

"ආයුබෝවන් ගුරුතුමී!"

"දැන් හැමෝම වාඩි වෙන්න."

පවනි සෙල්ලම් පන්තිය ආරම්භ කළා ය.



පවනිගේ යහළුවෝ සියලු දෙනා ම පන්තියට සහභාගි වූහ.

"අද අපි අකුරුත් එක්ක සෙල්ලමක් කරනවා. හැමෝම ඒකට සහභාගි වෙන්න ඕනෑ," පවනි හැමෝටම ඇහෙන්න හයියෙන් කීවා ය.

"ඉස්සෙල්ලා ම මම පිලි නැති අකුරක් කියනවා. ඊට පස්සේ ඉස්සරහ ම ඉන්න කෙනා ඒකට පිල්ලක් දාලා කියන්න ඕනෑ. ඊළඟට ඉන්න කෙනා තවත් පිල්ලක් දාලා කියන්න ඕනෑ. හැමෝටම තේරුණා ද?" පවනි ඇසුවා ය.

"ඔව්."

"එහෙනම් මම පටන් ගන්නවා."

"පළමු වැනි අකුර '**ක**' " පවනි කීවා ය.

නිපුණ "**කා**" කීවේ ය. රාධා "**කැ**" කීවා ය. සහන් "**කෑ**" කීවේ ය.

ඒ අනුව අනෙක් ළමයි ද පිලි යොදා අකුරු කීහ.

"**කි, කී, කු, කූ, කෙ, කේ, කෛ, කො, කෝ, කෞ.**"

"හොඳයි මම තව අකුරක් කියනවා, **ස.**"

"**සා, සැ, සෑ, සි, සී, සු, සූ, සෙ, සේ, සෛ, සො, සෝ, සෞ.**"

"බොහෝම හොඳයි, හැමෝම ඒ සෙල්ලම හොඳට කළා."

"අපි තව සෙල්ලමක් කරමු. හැමෝම දෙන්නා දෙන්නා එකතු වෙන්න. සෙල්ලම කරන විදිහ මම කියා දෙන්නම්."

"එක්කෙනෙක් අහසේ අකුරක් ලියන්න ඕනෑ. අනික් කෙනා ඒක කියවන්න ඕනෑ. කියෙවුවොත් දිනුම්, නැති නම් පරාදයි.

ඒ විදියට හැමෝමත් එක්ක සෙල්ලම කරන්න. සෙල්ලම හරියට කරනවා ද බලන්න මම එනවා."




සියලු දෙනා ම සතුටින් ක්‍රීඩාවේ නිරත වූහ. පවනි ගුරුවරියක මෙන් පන්තිය වටා ඇවිද්දා ය.

"බොහෝම හොඳයි."

"අපි තවත් සෙල්ලමක් කරමු. දැන් හැමෝම කොළය බැගින් අරගෙන තීරු හයක් ඇති වගුවක් ඇඳ ගන්න. උඩ ම පේළියේ ගැහැනු, පිරිමි, මල්, පලතුරු, සත්තු, ගම් කියා ලියන්න."

පවනි කොළයක පහත සඳහන් පරිදි ලියා පෙන්නුවා ය.

| ගැහැනු | පිරිමි | මල් | පලතුරු | සත්තු | ගම් |
|---|---|---|---|---|---|
| | | | | | |

"මම අකුරක් කියනවා. ඒ අකුරෙන් පටන් ගන්නා නම්වලින් වගුව සම්පූර්ණ කරන්න. ඕනෑ නම් අකුරට පිලි යොදන්නත් පුළුවන්. එක නමකට ලකුණු 10ක් ලැබෙනවා. ඒත් එක ම නම දෙන්නෙක් ලියා තිබුණොත් දෙන්නාට ම ලකුණු 5 බැගිනුයි ලැබෙන්නේ.

පවනි “ර” අකුර කීවා ය. සියලු දෙනා ම “ර” අකුරෙන් පටන් ගන්නා වචන යොදා තම තමන්ගේ වගු සම්පූර්ණ කළෝ ය. මනුක පහත සඳහන් පරිදි තමාගේ වගුව සම්පූර්ණ කළේ ය.

| ගැහැනු | පිරිමි | මල් | පලතුරු | සත්තු | ගම් |
|---|---|---|---|---|---|
| රාධා | රුවන් | රත්මල් | රටඉඳි | රඹුටන් | රාගම |

ඒ නම් අනෙක් අය ලියා නො තිබිණි. ඒ නිසා ඔහුට ලකුණු 10 බැගින් ලකුණු 60ක් ලැබිණි. පවනි තවත් අකුරු 10ක් කීවා ය. අවසානයේ සියලු දෙනා ම තම තමන්ගේ ලකුණු එකතු කර බැලූහ. වැඩි ම ලකුණු ගෙන ජයග්‍රහණය කළේ මනුක ය. සියලු දෙනා ම අත්පොළසන් දී ඔහුට සතුට පළ කළහ.

“ආයුබෝවන් දරුවනේ, අපි ඊළඟ දවසෙ තවත් සෙල්ලමක් කරමු.”

“ආයුබෝවන් ගුරුතුමී!”

## අවබෝධය

1. පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.

    i. සෙල්ලම් පන්තියේ ගුරුවරයා කවුද?

    ii. සෙල්ලම් පන්තියේ කළ සෙල්ලම් මොනවා ද?

    iii. සෙල්ලම් පන්තියේ සිටි ළමයින් කිහිප දෙනකුගේ නම් සඳහන් කරන්න.

    iv. සියලු දෙනා ම මනුකට අත්පොළසන් දුන්නේ ඇයි?

    v. වචන ඇසුරෙන් කරන ක්‍රීඩාවක් සඳහා වචන වැඩිපුර දැන ගැනීමට ඔබට කළ හැක්කේ මොනවා ද?

## ක්‍රියාකාරකම 1

1. පහත සඳහන් පිලි යෙදුණු වචන දෙක බැගින් පාඩමෙන් සොයා ඔබේ අභ්‍යාස පොතේ ලියන්න.

    - ඇලපිල්ල -
    - කෙටි ඇදපිල්ල -
    - දික් ඇදපිල්ල -

- කෙටි ඉස්පිල්ල -

- දික් ඉස්පිල්ල -

- කොම්බුව -

- කොම්බුව සහිත හල් කිරීමේ ලකුණ -

- කොම්බුව සහිත ඇලපිල්ල -

- කොම්බුව හා ඇලපිල්ල සහිත හල් කිරීමේ ලකුණ -

## ක්‍රියාකාරකම 2

1. පහත සඳහන් රවුම් දෙකේ ඇතුළත් අකුරු සහ පිලි එකතු කොට, වචන හැකි තරම් සකස් කරන්න.

| | | |
|---|---|---|
| ස | ම | ර |
| ග | ය | ල |
| න | ත | බ |
| ට | ද | ච |

| | | |
|---|---|---|
| ා | ී | ි |
| ැ | ො | ෙ |
| ෝ | ේ | |

2. පාඩමේ සඳහන් සෙල්ලම්වල නිරත වෙන්න.

# 2 සිහින මැවූ සිත්තරිය



සිහිනයක ජීවත් වූ පුංචි දැරියක් සිටියා ය. ඇයගේ අම්මා, තාත්තා, ආත්තම්මා, ලොකු අම්මා වගේ පවුලේ ම අය ඒ සිහිනවල ජීවත් වූහ. ඒ වගේ ම ගමේ අසල්වැසි වැඩිහිටියෝ සහ නෑහිතමිතුරෝ ද, ගමට ආ ගිය අය ද ඒ අතර වූහ. එපමණක් නොව, ඇය ජීවත් වූ පරිසරයේ පණ ඇති, පණ නැති හැම දේ ම පාහේ ඇයට ලස්සන සිහිනයක් ම විය. සැබෑ ලෝකයේ අසන දකින බොහෝ දේ ඇය සිහිනයක් සේ මතකයේ තබා ගත්තා ය. මේ සිහින අප නින්දේ දී දකින සිහින නම් නො වේ.

ඇගේ ගම ගිංතොට ය. එය ගාලු පුරවරයට ඉතා ම කිට්ටු සුන්දර ගම්මානයකි. මල්, පලතුරු, ගහකොළවලින් පිරුණු නිතර ම සිහිල් සුළඟ හමන මේ ගම ගැන අපූරු මතක සටහන් ඇයගේ සිහිනවල තිබිණි. හිමිදිරියේ ම අවදි වී ගේ අවට සිරියාව අත් විදිමින් මේ පුංචි දැරිය ඒ අමුතු ම සිහින සිතින් මවා ගත්තා ය.



"වත්ත කෙළවරේ උස් තැනක පිහිටා තිබුණු පොල් මුල උඩයි, මගේ රාජධානිය. එතැනයි මගේ මාලිගාව, දිව්‍ය ලෝකය, වනය, සිරීපාද කන්ද, පාසල, නෑ ගෙදර, මඟුල් ගෙදර. ඕනෑ තරම් හීන මවන්න මට පුළුවන් වුණ තැනක් තමයි ඒ පොල් මුල."

ඇය ළමා කාලයේ ඇයගේ මතකය කියා පෑවේ එලෙස ය. ගමේ ගුරු පාර, අඩි පාර, වෙල් නියර දිගේ ගොස්, ඇළ හරහා ලී පාලමෙන් පැන අම්මාත් සමග පන්සල් ගිය හැටි ඇයට මතක ය. ආත්තම්මා සමග නිදහසේ ගම්ගොඩේ ඇවිද ගිය ළමා කාලය ඇයට ඉතා සොඳුරු සිහිනයක් ම විය. ලොකු අම්මා (තාත්තාගේ ලොකු අයියාගේ බිරිඳ) ඇගේ මේ අහිංසක සිහිනවල සිටි අපූරුතම වීරවරියයි.

"වැස්ස නැති හැමදාක ම ලොකු අම්මා පොල් ලෙලි තැළීමට ගියා. තළන ලද ලෙලි, කොහු වුණාට පසු ලොකු අම්මා ඒවා ගෙනැවිත් මිදුලේ දමා වේළා ගත්තා. වේළුණු කොහු නෙළීමෙන් ඈ හදා ගත්තේ මිදුල මැද රන්වන් කොහු වලාකුළක්. ඒ වලාකුළේ මා පෙරළි පෙරළි සෙල්ලම් කළේ පූසි පැටවකු මෙන් නිදහසේ. වෙලාවකට මට හිතුණා ඒ රන්වන් කොහු, යෝධ සීයා කෙනෙකුගේ රැවුළක් දෝ කියලා."





ලොකු අම්මා සමග පන් නෙළන්න වෙලට ගිය සැටිත්, ලොකු අම්මා සායම් පොවා පන් පැදුරු වියන ආකාරයත් ඇයට මතක ය.

"පැදුරු වියන ලොකු අම්මා ළඟ මා නිකම් වාඩි වෙලා හිටියේ නෑ. ඇය කී අපූරු ගැමි කතාවලට කන් දුන්නා. ඒවායේ චමත්කාරය මගේ හිතේ, ගලේ කෙටූ අකුර වගේ කවරදාවත් නොමැකෙන්න ඇඳිලා. කොහොම වුණත් පැදුරක් වියලා ඉවර වෙන අතරතුරේ පුංචි මගේ හිත පුදුම සිහින ලෝකෙක සැඟවිලා. ඒ තුළිනුයි මගේ මුළු ජීවිතයට ම බලපාන ලෙස නිර්මාණශීලී අඩිතාලමක් වැටුණේ."

"මගේ කලා ජීවිතයේ මුල් ගුරුතුමී හැටියටයි, මගේ අහිංසක ලොකු අම්මා මා කවරදාත් සිහිපත් කරන්නේ."

මේ පුංචි දැරිය ඇගේ ප්‍රියතම වැඩිහිටි නෑදෑයා ගැන පසු කලෙක එසේ කීවා ය.

සිංහල අලුත් අවුරුද්ද ළං වූ දවසක ගෙදර තවත් අමුතු ම දෙයක් සිදු විය. මිදුලේ වැල්ලේ කෝටුවකින් පමණක් ම පින්තූර අඳින්න පුරුදු වී සිටි මේ සිඟිත්තිය එදින නිදහසේ චිත්‍රයක් ඇන්දා ය. ඒ අලුත් අවුරුද්දට ළා කොළ පාටින් සායම් කළ ගෙයි මැද සාලයේ බිත්තියේ ය.

අඟුරු කෑල්ලකින් ඇන්ද ඒ චිත්‍රය මුලින් ම දුටුවේ තාත්තා ය. දෝතින් ම ඇය වඩා ගත් තාත්තා ඇගේ දස්කම අගය කළේ ය. එදා පටන් ඇය තමාගේ සිහින විවිධාකාරයෙන් සිතුවමට නැඟුවා ය. ඒ පාට පාට සිතුවම්වලට ගැළපෙන කතන්දර ගොතන්නට ඇයට හැකි වූයේ ඇගේ ඒ සිහින ද තවත් අලුත් වූ නිසා ය.

'සිබිල් නැන්දා' හෙවත් සිබිල් වෙත්තසිංහ මැතිනිය එදා ඒ සිහින දුටු කුඩා දැරියයි. වයස අවුරුදු හයේ දී ඇයට ගමෙන් නගරයට එන්නට සිදු විය. එහි දී ද ඇය ඒ ගමේ මතකයේ ම ජීවත් වූවා ය. කුඩා කාලයේ ගමේ දී දුටු බලි තොවිල්, ජන ක්‍රීඩා, විශේෂ උත්සව, සිදුවීම් හා චරිත සියල්ල ඇය තවත් අපූරුවට සිතින් මවා ගත්තා ය. ඇය ඒ සිහිනවල ම ජීවත් වූවා ය.

වයස අවුරුදු අනූව ඉක්මවා සිටිය දී ද ඇය ඒ සිහින ලෝකයේ ම ජීවත් වූ දැරියගේ අද්දැකීම් අපට කියන්නී ය. ඇය ලියූ **කුඩ හොරා** අන්තර්ජාතික සම්මාන රැසක් දිනා ගත් ළමා සාහිත්‍ය කෘතියකි. ජපානයේ දී එය හොඳ ම ළමා කතාව ලෙස තෝරා ගැනිණි. ඇය ලියූ **දුවන රැවුළ, වෙසක් පහන, උඩ ගිය බබා, පුළුන් බබා, කැවුම්**

**යෝධයා**, **කිරිහාමි**, **මැටි ගෙදර ළමයි**, **සූත්තර පූංචා**, **රතු කාර් පොඩ්ඩා** ආදි පොත් රැසකි. මේ සියලු කෘති ඇය සිංහලෙන් මෙන් ම ඉංග්‍රීසියෙන් ද ලියා පළ කර තිබේ. බුද්ධ චරිතය සිතුවමට නගා ඇති **සිද්ධාර්ථ ගෞතම** පොතේ මෙන් ම **රිදී ගහේ කතාව** පොතේ ඇගේ චිත්‍ර ශෛලියේ විශේෂත්වයක් දැකිය හැකි ය. බයිබලයේ එන කතා ද අපූරුවට සිතුවම් කළ සිබිල් නැන්දා ළමා තරුණ වැඩිහිටි කොයි කාගේත් ආදරය දිනා ගත්තා ය. එතුමිය අපේ රටට විශාල කීර්තියක් අත්පත් කර දුන් ලේඛිකාවකි. එතුමියගේ චිත්‍ර දකින අපට දැනෙන සතුට ඇගේ ළමා වියේ සිහින පමණට ම අගනේ ය.



"මා තුළ ඉන්නේ
චරිත දෙකක්
        සුරලොව දකිනා
        පොඩි ළමයෙක්
ආදරෙ හඳුනන
වැඩිහිටියෙක්
        දෙන්නා එක් වී
        රස විඳිමින්
මතු කර දෙන්නේ
සිහින ලොවක්"

සිබිල් නැන්දා අදටත් ඒ සිහින ලෝකය වෙත අප ගෙන යන්නී ය. ඒ සිහින නිසා ම අපි ඇයගේ පොත් කියවා රස විඳිමු. ඇය අතින් නිමැවුණු සිතුවම් බලා අපි ඒ සිහින ලෝකවල සැරිසරමු.




(සිබිල් වෙත්තසිංහගේ වැනියං කළ වැනීයං කෘතිය ඇසුරෙනි.)

## අවබෝධය

1. පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. සිබිල් නැන්දා කුඩා කල සිහින මැවූ ස්ථානය කුමක් ද?

   ii. ඇයගේ ප්‍රියතම නෑදෑයා කවුද?

   iii. ඇය ගෙයි බිත්තියේ ඇඳි සිතුවම අගය කළේ කවුද?

   iv. සිබිල් නැන්දා සිතුවම් සහිතව රචනා කළ, අන්තර්ජාතික සම්මානයට පාත්‍ර වූ ජනප්‍රිය ළමා කතා පොත කුමක් ද?

   v. සිබිල් නැන්දා තුළ ජීවත් වන චරිත දෙක නම් කරන්න.

## ක්‍රියාකාරකම 1

1. පහත දැක්වෙන මාතෘකාවලින් එකක් තෝරා ගෙන පන්තිය ඉදිරියේ කතාවක් කරන්න.

   - මගේ අනාගත බලාපොරොත්තුව
   - මගේ ලෝකයේ වීරයා
   - මා දුටු සුන්දර ස්ථානයක්

## ක්‍රියාකාරකම 2

දී ඇති වචන ඇසුරෙන් පහත සඳහන් වගුව සම්පූර්ණ කරන්න.

අසල්වැසියෝ, අම්මා, මල්, පලතුරු, පොල් මුල, වත්ත, බිරිඳ, ලොකු අම්මා, සිඟිත්තිය, කොහු, පූසි පැටවා, සීයා, සායම්, පැදුරු, අකුර, ලේඛිකාව, චිත්‍රය, නැන්දා, සම්මාන, තාත්තා

| ප්‍රාණවාචී නාම පද | අප්‍රාණවාචී නාම පද |
|---|---|
| | |

# 3 පොත් කුරුල්ලා



ඉස්කෝලේ නිවාඩුවට පොත් සාප්පුවේ
පොතින් පොතට පියඹා යමි හරි සැහැල්ලුවේ
තාත්තාගෙ කොටු කමිසයෙ උඩ සාක්කුවේ
බර අඩු වෙනවා දැක්කම ඇති කියා හිතේ

ඇතෙක් බරට තෑගි ලැබුණු පොත් ගොඩක් ඇතේ
පොතින් පොතට මං ගිය දුර දුටු කෙනෙකු නැතේ
කවි - රචනා - කතා - ගීත ලියූ කොළ ගොඩේ
නමක් නැතත් කියවූ පොත් මතකයේ ඇතේ

පොතයි - නෙතයි - අතයි - හිතයි එකට එක් වෙලා
ඇඳේ වැටී පුටුවෙ ඇදී පොළොවෙ වැතිරිලා
තුරු සෙවණේ මල් සුවඳේ හීනයක් වෙලා
පිටු අතරින් ඉගිළෙමි පොත් කුරුල්ලෙකු වෙලා

**සතුටු කෝච්චිය**
විපුලි නිරෝෂිණී හෙට්ටිආරච්චි

## අවබෝධය

1. පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. සතුටින් පොත් තෝරා ගත් බව කියවෙන කවි පදය කුමක් ද?

   ii. තාත්තාගේ සාක්කුවේ බර අඩු වෙනවා කියන්නේ ඇයි?

   iii. පොත් ගොඩක් තෑගි ලැබුණු බව කියවෙන කවි පදය උපුටා දක්වන්න.

   iv. කවියේ සඳහන් පොත් කියවන ඉරියවු මොනවා ද?

   v. මේ කවි පෙළෙහි 'පොත් කුරුල්ලා' ලෙස හැඳින්වෙන්නේ කවරෙක් ද?

## ක්‍රියාකාරකම 1

1. මේ වචන යොදා අර්ථවත් වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.

   i. නිවාඩුවට
   ii. සැහැල්ලු
   iii. ඇතෙක් බරට
   iv. තුරු සෙවණ
   v. මල් සුවඳ

# 4 අමුතු කතා

පින්තූර මගින් කතා කීම ඈත කාලයේ සිට පැවත එන ක්‍රමයකි. පින්තූර කතා කියවීමට අපි කැමැත්තෙමු. චිත්‍ර කතා යනු පින්තූර බහුලව භාවිත කරමින් ඉදිරිපත් කෙරෙන කතන්දර වර්ගයකි. ටින් ටින්ගේ වීර ක්‍රියා, ඇස්ටරික්ස් ආදිය ලෝකය පුරා අදත් ජනප්‍රිය චිත්‍ර කතා වේ. දිගු කතා ලෙස ද ඇතැම් විට ඉතා කුඩා කතා ලෙස ද චිත්‍ර කතා දැකිය හැකි ය. ළමා පුවත්පත්වල කොටස් වශයෙන් මෙන් ම තනි කථාංග වශයෙන් ද චිත්‍ර කතා පළ වෙයි.

බටකොළ ආච්චි, බූ බබා ආදි චරිත අපට හඳුන්වා දුන් එස්.ඒ. දිසානායක මහතාගේ චිත්‍ර කතා නිර්මාණ කිහිපයක් මේ පාඩමට ඇතුළත් වෙයි. එතුමාගේ චිත්‍ර කතා එකල ඉතා ජනප්‍රිය විය. ඔහු විසින් නිර්මාණය කරන ලද 'අමුතු කතා' පළ වූයේ තනි කථාංග වශයෙනි. එබඳු කථාංග තුනක් මෙහි ඉදිරිපත් කර ඇත.






එදා, අපි අඹ හත්දෙනා කැඳ උයපු කතාව ඉගෙන ගත්තා. අපි අද ඒක රඟපාමු!
හා මිස්!
එහෙම නම් දැන් ඔයගොල්ල සූදානම් වෙන්න!
හෝ!!!!!!!
හරි අපූරුවට ඔයගොල්ල නාට්‍යෙට සූදානම් වෙලා! අතන හැබැවටම වතුර හැලියකුත් ලිපේ!
මං නැවතත් ඔයගොල්ලන්ට මේ කතාවෙන් දෙන අවවාදය මතක් කරලා දෙන්නම්! කවදාවත් අනුන් රවටන එක හොඳ නෑ! නාට්‍යය අවසන් වෙන්න ඕනෑ එහෙම!
දරුවනේ, හැලියේ හැබැවටම කැඳ උදෙනවානේ! ඒක වුණේ කොහොමද?
රවටන එක හොඳ නැහැනෙ මිස්...! මං හාල් මිටක් දැම්මා!
මාත් දැම්මා!
මාත්!
මාත්!
මාත්!
මාත්!
මාත් දැම්මා!



පුතේ මේ කෑම භාජනේ බල්ලාට ගිහින් දෙන්න!
කෝ දෙන්න අම්මෙ!
එස්.ඒ. දිසානායකගේ
අමුතු කතා
හා අම්මෙ!
දැන් රෑ වුණා. ඕක වහලා ගිහින් නිදාගන්න!
තාත්තයෝ! තාත්තයෝ!!
මට බඩ ගිනියි!
අං!
හිඃ! මොන පව් වැඩක්ද මං කළේ?
මට සමාවෙන්න පැටි!
මං යන්නම්! ආයෙ මං මෙහෙම වැරදි කරන්නෙ නෑ!
මට හීනෙන් ඇවිත් කතා කළේ පැටිගෙ බඩගිනි වේදනාවද?



එන්න දකුණු පැත්තට! මේක වාහන යන පාර!
ඔයා නිකං යන්න! දන්න මිනිහා කොහොම ගියත් එකයි!
පාරේ නීතිය දන්න කෙනා යන්නෙ දකුණු පැත්තෙන්! එකෙ තේරුම වාහන එන්නෙ වම් පැත්තෙන්!
ඔයා පණ්ඩිතයෙක්! හැබැයි පණ්ඩිතයාට ඒ දණ්ඩෙ යන්නත් බැරිලු! ඇයි හිතනවා වැඩියෙන්?
මං කියන්නෙ මේකයි; පාරේ දකුණු පැත්තෙන් ගමන් කරන කෙනාට තමා කිට්ටුවෙන් යන වාහන කල්තියා පෙනෙනවා! ඒ නිසා කල්තියා වාහනේට අවකාශ ඉඩ දීලා අයින් වෙන්න පුළුවනි!
වාහනේකට කුක්කානමක් තියෙන්නෙ ඒකට! අපි පැනලා ඉඩ දෙන්න ඕනෙ නෑ!
කිව්වා නාහන ගුරු ඉහළ ගියොත් ඉහළ, පහළ ගියොත් පහළ, කිව්වලු!
ඇති! ඇති!! යන්න පාර බලාගෙන!
ඇහ්!

## අවබෝධය

1. **පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.**

   i. සිසුන් රඟපෑමට සූදානම් වුණු කතාව කුමක් ද?

   ii. එම කතාවෙන් දෙන ආදර්ශය කුමක් ද?

   iii. බල්ලාට බත් දීමට ළමයාට අමතක වූයේ ඇයි?

   iv. පාඩමට අනුව 'පාරේ නීතිය' යනු කුමක් ද?

   v. පාරේ නීතිය අනුගමනය නොකළ ළමයාට සිදු වූයේ කුමක් ද?

## ක්‍රියාකාරකම 1

**ගුරුවරයාගේ සහාය ඇතිව ඊළඟ පිටුවේ දැක්වෙන චිත්‍ර කතාවේ හිස්තැන්වලට සුදුසු දෙබස් ගොඩ නගන්න.**




## ක්‍රියාකාරකම 2

ඔබත් තනිව හෝ යහළුවන් සමග එකතු වී චිත්‍ර කතා නිර්මාණය කරන්න.

# 5 පුංචි වුණත් පුංචි අපට හිතන්න පුළුවන්



පොතේ ගුරු :-

වනන්තරේ ඇත එපිට
නෙලුම් පිපුණ විලක් ඇතී
නිල් වතුරෙන් පිරුණු කලට
වන සිවුපාවෝ ඇදෙතී

ගැඹුරු විලේ මඩ වගුරේ
පා එරිලා හඬ නගතී
ගොඩ එන්නට බැරිව දුකින්
සිවුපාවෝ කල් ගෙවතී



බමරා :- මැඩි නයිදෙ නැගිටින්න
ඉබි නයිදෙ නැගිටින්න

පුංචි පුතා ඊයෙ ගෙදර
නොපැමිණි හින්දා
ඇතින්නී මුළු රෑ තිස්සේ
අඬ අඬ හිටියා
දුක හිතිලා මම මේ
පියඹා ගෙන ආවා
මොකද වුණේ මැඩි නයිදේ
කියන්න පහදා

මැඩි නයිදේ :- ඉවුරේ සෙල්ලම් කර කර
හිටි ඇත් පැටියා
නෙලුම් මලක් කඩා ගන්න
වතුරට බැස්සා

ඉබි නයිදේ :- හුරතලාගෙ පුංචි කකුල්
යටට ම එරුණා
ගොඩට එන්න බෑ මුළු රෑ
වතුරේ ම ගෙවුණා

මැඩි නයිදේ }
ඉබි නයිදේ } :- මොනව කරන්න ද බමරෝ
පොඩි අපි දෙන්නා
අපිත් ඉතින් දුකින්
හුරතලා ළඟ උන්නා







බමරා :- පුංචි උණුත් - පුංචි අපට
හිතන්න බැරි ද?
මේ වෙලාවෙ
කිසිත් නොකර ඉඳීම හරි ද?

මැඩි නයිදේ :- බමරෝ ඉතින් පමා නොවී
යන්න පියඹලා
කියන්න මෙහි ඉන්නා බව
පුංචි හුරතලා

ඉබි නයිදේ :- ඇතින්නි මේ ගැන අහලා
කලබල වේවී
එක පාරට දුවගෙන විත්
විලට පනීවී



මැඩි නයිදේ :- මඩ වගුරේ ඇතින්නිගෙත්
කකුල එරේවී
ගොඩට එන්න බැ
ඇස්වල කඳුළු පිරේවී

බමරා :- එහෙම නොවෙයි ඉබි නයිදේ
එහෙම නොවෙයි මැඩි නයිදේ
ටිකක් හිතන්න
ඉක්මන් වෙන්නට නරකයි
කලබල වෙන්නට නරකයි
වැඩක් කරන්න



**පොතේ ගුරු** :- මිතුරන් තුන්දෙන
කසු කුසු ගාමින
කතා බහක් වූවයි
පුංචි පුංචි මොළ
තුන එක් වූ තැන
ලොකු අදහස ආවයි
බමරා සතුටින්
කොහෙදෝ යන බව
රෑං කියා කීවයි
විල ළඟ දෙණියේ
ජය සක පිඹ
වලි කුකුළෙක් හැඬලූවයි

**ගායක පිරිස** :- බමරා ගොස් ඇතින්නියට
තොරතුරු කීවා
ඇය කැලයෙන්
වැලක් කඩන්
එතැනට ආවා
ඉබි නයිදේ වෙහෙස වෙලා
වතුරට බැහැලා
පහුරු ගගා වතුර බහින
කානුව කැපුවා
ඇතින්නි හොඬවැල කොනකින්
වැල් පට ගත්තා
වැලේ අනික් කෙළවර
මැඩි නයිදෙට දුන්නා



පොතේ ගුරු :- වැල්පට ගෙන අතින්
මැඩි නයිදේ හෙමින්
ඇත් පැටියා ළඟටයි යන්නේ
ඇත් පැටියා හොඬෙන්
වැල අල්ලා තදින්
දෙපා බුරුල් කරමින් උන්නේ
ඇතින්නි දුර ඉඳන්
වැලෙන් අදී හෙමින්
පුංචි පුතා දැන් ළඟ එන්නේ
දෙපා මිදී මඩෙන්
හිනා වෙවී හොරෙන්
හුරතලා විලෙන්
ගොඩවෙන්නේ



ගායක පිරිස :-

මල් පෙතිවල
කම්මුල් මත
හිරු රැස් වැටුණා
ටිකිරි සිනා
රේණු සලා
ඒ මල් පිපුණා
පුංචි යාළුවන්
ඔක්කොම
රංචුව සැදුණා
සන්තෝසෙන්
සින්දු කියා
නැටුමක යෙදුණා

ගල් අරඹේ ඇතින්නියා
රත්න ශ්‍රී විජේසිංහ

## අවබෝධය

1. පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. නෙලුම් පිපුණු විලක් තිබුණේ කොහේ ද?

   ii. මඩ වගුරේ පා එරුණේ කාගේ ද?

   iii. ඇතින්නි මුළු රෑ තිස්සේ හඬමින් සිටියේ ඇයි?

   iv. බමරා පණිවිඩය පැවසුවේ කාට ද?

   v. "ඉක්මන් වෙන්නට නරකයි
   කලබල වෙන්නට නරකයි
   වැඩක් කරන්න"
   බමරා මෙසේ ප්‍රකාශ කළේ ඇයි?

## ක්‍රියාකාරකම 1

ඇත් පැටවා බේරා ගත් ආකාරය විස්තර කරන්න.

## ක්‍රියාකාරකම 2

මේ කතාව පන්තිය ඉදිරියේ රඟ දක්වන්න.

# 6 රෙදි වියනා මකුළු දැරිය



ඈත අතීතයේ කාලෙක යොසාකු කියලා තරුණ ගොවියෙක් හිටියා. එක දවසක් කුඹුරේ වැඩ කරමින් සිටිය දී සර්පයෙක් මකුළුවකු අල්ලා ගන්න හදන හැටි යොසාකු දැක්කා. යොසාකුට මකුළුවා ගැන හරියට දුක හිතුණා. ඔහු උදැල්ල අරං එතැනට දුවලා සර්පයා බය කර පැන්නුවා.

මකුළුවා තණ බිස්සේ හැංගුණා. ඒත් ඊට මොහොතකට කලින් ඒ මකුළුවා නතර වෙලා යොසාකුට හිස නමා ස්තුති කළා වගේ පෙනුණා.

දවසක් උදේ යොසාකු විවේකයෙන් ගෙදර හිටියා. කවුදෝ සිහින් හඬකින් එළියෙ ඉඳන් කතා කරනවා ඔහුට ඇහුණා.

"යොසාකු, යොසාකු"
දොර ඇරියා ම එළියෙ ලස්සන ගෑනු ළමයෙක් හිටගෙන හිටියා.

"ඇඳුම් මහගන්න ඔබතුමා රෙදි වියන්නියක් හොයනවා කියලා ආරංචියි," ගෑනු ළමයා කිවුවා. "මෙහෙ නැවතිලා රෙදි වියන්න මට ඉඩ දෙනවා ද?"

මේක ඇහුවා ම යොසාකුට හරි සතුටුයි. ඇත්තට ම ඔහු උදව්වට කවුරු හරි සොයමින් හිටියෙ. යොසාකු ගෑනු ළමයාට රෙදි වියන කාමරය පෙන්නුවා.

ඇය කපු පුලුන් ටික ළං කර ගෙන වැඩ පටන් ගත්තා. දවස අවසානයේ දී ගෑනු ළමයා කරලා තියෙන වැඩ බලන්න යොසාකු කාමරයට ගියා. ඒ වන විටත් ඇය කිමෝනෝ අටක් මහන්න ප්‍රමාණවත් රෙදි කෑලි අටක් වියා තිබුණා. යොසාකුට හරි පුදුමයි. එක දවසකට මේ තරම් ප්‍රමාණයක් රෙදි වියන්න පුළුවන් කෙනකු ගැන යොසාකු කවදාවත් අහලා තිබුණේ නෑ.

"ඔයාට කොහොම ද ඔච්චර රෙදි ගොඩක් වියන්න පුළුවන් වුණේ," ඔහු ගෑනු ළමයාගෙන් ඇහුවා.

ඊට පිළිතුරු දෙනවා වෙනුවට ඇය මෙහෙම කිවුවා. "ඔබතුමා ඒ ගැන අහන්න එපා. ඒ වගේ ම මං වැඩ කරන වෙලාවට ඔබතුමා කාමරේට එන්නත් එපා."

එහෙත් යොසාකුට තිබුණේ පුදුම කුතුහලයක්. ඒ නිසා ඔහු දවසක් රෙදි වියන කාමරයේ ජනේලයෙන් හොරෙන් එබිලා බැලුවා. දුටු දෙයින් ඔහු හොඳට ම පුදුම වුණා.

ඒ කාමරයේ සිටියේ ගෑනු ළමයෙක් නොවෙයි. කකුල් අටකින් වේගයෙන් රෙදි වියමින් සිටි විශාල මකුළුවෙක්! ඌ රෙදි වියන්න නූල් හදා ගත්තෙ තමන්ගෙ කටින් ආ මකුළු දැලකිනුයි.

ඒ ඉන්නේ තමන් එදා සර්පයාගෙන් බේරා ගත් මකුළුවා ම බව යොසාකු හඳුනා ගත්තා. ඒ සමග ම ඔහුට සියල්ල වැටහුණා. මකුළුවා කළගුණ දන්නා කෙනෙක්. දැන් ඒ මකුළුවාට අවශ්‍ය යොසාකුට ප්‍රතිඋපකාරයක් කරන්න. ඒ නිසා මකුළුවා ලස්සන ගෑනු ළමයකුගේ වේශයෙන් ඇවිත් රෙදි වියනවා. මකුළුවා කාමරයේ තිබූ කපු පුලුන් කාලා රෙදි වියන්න නූල් වමාරනවා.



මකුළුවා තමාට කරන මේ උදව්වට ස්තුති කරන්න යොසාකුට වචන නෑ.

කාමරයේ තිබුණු කපු පුළුන් ටික ඉවර වෙන්නත් ළඟ බව ඔහු දැක්කා. යොසාකු ඊට පසුව දා උදෙන් ම කන්දෙන් එහා පැත්තෙ තිබුණ ගම්මානයට ගියා. පුළුන් ටිකක් මිලට ගත්තා. ඒ පුළුන් ටික පොදි බැඳගෙන කරේ තියා ගත්තා. ගෙදර එන්න පිටත් වුණා.

අතරමගදි ඉතා ම භයානක දෙයක් සිදු වුණා. යොසාකු ගිමන් හරින්න මග වාඩි වුණා. ඒ වෙලාවේ ඔහු එදා එළවා දැමූ සර්පයා හෙමිහිට පුළුන් පොදියට රිංගා ගත්තා. යොසාකු ඒක දැක්කේ නැහැ.



ඔහු පුළුන් පොදිය ගෑනු ළමයාට භාර දුන්නා. ඒ කපු පුළුන් ටික දැක්කා ම ගෑනු ළමයාට හරි සතුටුයි. මොක ද, ඒ වෙද්දි ගෙදර තිබුණු කපු පුළුන්වලින් රෙදි වියා ඉවරයි. ඈය පුළුන් පොදියත් රැගෙන රෙදි වියන කාමරයට ගියා.

රෙදි වියන කාමරයට ගිය සැණින් ඇය නැවත මකුළුවකු බවට හැරුණා. මකුළුවා වේගයෙන් කපු පුලුන් කන්න පටන් ගත්තා. කාගෙන කාගෙන ගිහින් පුලුන් පොදියෙ පතුලට ම කාලා ඉවර වුණා. පුලුන් පොදියෙ සිටි සර්පයා එකපාරට ම මකුළුවා අල්ලා ගන්න පැන්නා.

සර්පයා මහ විශාලෙට කට ඇරියා. බියට පත් මකුළුවා ජනේලයෙන් එළියට පැන දිවුවා. සර්පයා වේගයෙන් මකුළුවා පස්සෙ පැන්නුවා. මකුළුවා කොයි තරම් කපු පුලුන් කා සිටියා ද කියතොත්, උෟට වේගයෙන් දුවන්න බැරි වුණා. සර්පයා ඉක්මනින් ම මකුළුවාට ළං වුණා.



ඒ වෙලාවෙ මහ පුදුම දෙයක් සිදු වුණා. ඉර ඉහළ අහසේ සිට පහළ සිදු වන දේ බලා ගෙනයි සිටියේ. මකුළුවා යොසාකුට උදවු කළ ආකාරය ඉර දැනගෙන හිටියා. ඒ නිසා ඉක්මනින් හිරු කිරණක් පහළට එවුවා. මකුළුවාගේ කටින් එළියට ඇදුණු නූල් පොටේ කෙළවර එම කිරණින් අල්ලා ගත්තා. ඊට පස්සේ හෙමිහිට මකුළුවා ඉහළට ඇද ගත්තා. දැන් මකුළුවා ඉන්නේ සර්පයාට ළං වෙන්න බැරි තරම් උඩ.





සර්පයාගෙන් තමා බේරා ගැනීම ගැන මකුළුවා ඉරට ස්තුති කළා. ඇගේ තිබුණ කපු පුළුන්වලින් මකුළුවා ඉහළ අහසේ ලස්සන සුදු වලාකුළු රාශියක් ගොතාගෙන ගොතාගෙන ගියා.

වලාකුළු සුදු ම සුදු පාටට සුමුදුවට තිබෙන්නේ ඒ නිසා ලු. වලාකුළටයි මකුළුවාටයි ජපානයේ කියන්නේ එකම නමයි. ඒ තමයි **'කුමෝ'**.

ෆ්ලොරන්ස් සාකේඩ්ගේ Japanese Children's Favorite Stories කෘතියෙන් උපුටා ගත් කතාවකි. චූලානන්ද සමරනායකගේ පරිවර්තනය ඇසුරෙනි. චිත්‍ර - යොෂිසුකේ කුරොසාකි.

## අවබෝධය

1. පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.

    i. මකුළුවා නූල් ලබා ගත්තේ මොනවායින් ද?

    ii. මකුළුවා යොසාකුට කළගුණ සැලකුවේ කෙසේ ද?

    iii. සර්පයා යොසාකුගේ රෙදි වියන කාමරයට පැමිණියේ කෙසේ ද?

    iv. ඉර, මකුළුවාට උදවු කළේ ඇයි?

    v. මකුළුවා හැඳින්වීමට ජපන් භාෂාවේ යෙදෙන වචනය කුමක් ද?

## ක්‍රියාකාරකම 1

මේ කතාවේ එක් එක් චරිතය ගැන ඔබේ අදහස් කෙටියෙන් දක්වන්න.

i. යොසාකු

ii. මකුළුවා

iii. සර්පයා

iv. ඉර

## ක්‍රියාකාරකම 2

දී ඇති වාක්‍ය පාඩමට අනුව අර්ථය නිවැරදි වන සේ සකස් කර ලියන්න.

උදාහරණ:- යොසාකුට මකුළුවා ගැන හරියට **සතුටු** හිතුණා.
යොසාකුට මකුළුවා ගැන හරියට **දුක** හිතුණා.

1. එළියෙ **අවලස්සන** ගෑනු ළමයෙක් හිටගෙන හිටියා.
2. මකුළුවා කළගුණ **නො දන්නා** කෙනෙක්.
3. යොසාකු කියලා **මහලු** ගොවියෙක් හිටියා.
4. සර්පයා **හෙමින්** මකුළුවා පස්සෙ පැන්නුවා.
5. ඉර, මකුළුවා **පහළට** ඇද ගත්තා.

# 7 සරු පොළොවක් අපට ඇතේ

වෙරළ වටා මුතුපර වැටියයි
ඉන්දිය සයුරේ මුතු ඇටයයි

පාට පාට මැණික් ජාති
පසට යටින් කැටි වේ
රත්නදීප පොළොව තුළින්
ධන නිධාන මතු වේ



මහවැලි නිල්වලා ගඟයි
කළු වලවේ කැලණි ගඟයි
ගමින් ගමට
ගලා ගොසින්
ගොඩයි මඩයි පොහොර කරයි

පලා පැහැය හැම කල්හි ම
රැඳී දිලෙන පොළොවේ
ඉවත දමන දඬුව වුව ද
දලු ලා යළි පැළ වේ



සීගිරියේ ලෙන් දොරකඩ
සිටින සුරංගනාවෝ
දෝත පුරා මල් අරගෙන
අපට සුවඳ ගෙනාවෝ

නිල් පලසක් එළුවා සේ
රුහුණු රටේ වෙල් යායයි
පිය ගැට පෙළ කැපුවා සේ
උඩරට පොඩි ලියදි පෙළයි



දුන්හිඳ දියලුම ඇලී
ගලින් ගලට හැලි හැලී
සිහින් සිනිඳු දේදුනු මැද
මුතු වැල් වරුසා වසී

ඉරු දෙවි මුහුදින් ඇදී
සමනොළ කන්දට වඳී
එතකොට මුළු ලංකාව ම
දිලිහෙයි ලස්සන වෙවී

සරු පොළොවක් අපට ඇතේ
මහගම සේකර



## අවබෝධය

1. කවි පන්තිය ඇසුරෙන් උත්තර දෙන්න.

   i. පොළොව තුළින් මතු වන ධන නිධාන මොනවා ද?

   ii. කවි පෙළෙහි සඳහන් ගංගාවල නම් කියන්න.

   iii. දෝත පුරා මල් අරගෙන සුවඳ ගෙනෙන්නේ කවුද?

   iv. ලංකාව හැඳින්වීමට කවි පන්තියේ යොදා ඇති වෙනත් නම් මොනවා ද?

   v. "ඉවත දමන දඬුව වුව ද දලු ලා යළි පැළ වේ." මින් අදහස් කරන්නේ කුමක් ද?

## ක්‍රියාකාරකම 1

හිස්තැන්වලට සුදුසු අකුර වරහන් තුළින් තෝරන්න.

i. වෙර...... වටා මුතු පර වැටියයි. (ල, ළ)

ii. රත්නදීප පො......ව තුළින් ධන නිධාන මතු වේ. (ලො, ළො)

iii. දි......හෙයි ලස්සන වෙවී (ලි, ළි)

iv. ප...... පැහැය හැම කල්හි ම (ලා, ළා)

v. දලු ලා යළි පැ..... වේ. (ල, ළ)

vi. පියගැට පෙ...... කැපුවා සේ (ල, ළ)

## ක්‍රියාකාරකම 2

**(අ) කොටසේ දැක්වෙන ස්ථාන සමාන කර ඇත්තේ මොනවාට දැයි (ආ) කොටසින් තෝරා යා කරන්න.**

| (අ) | (ආ) |
|---|---|
| රුහුණු රටේ වෙල්යාය | ඉන්දිය සයුරේ මුතු ඇටය |
| උඩරට පොඩි ලියදි පෙළ | මුතුවැල් වරුසා |
| දුන්හිඳ දියලුම ඇලී | නිල් පලස |
| ලංකාව | පියගැට පෙළ |

## ක්‍රියාකාරකම 3

**‘මගේ රට’ ගැන කවියක් නිර්මාණය කරන්න.**

# 8 පැන්සලක් වගේ හොඳ මිනිසෙක් වන්න



ආච්චිලා, කිරි අම්මලා මුනුපුරු මිනිපිරියන්ට හරි ම ආදරෙයි. දවසක් දා කිරි අම්මා කෙනකු ලියුමක් ලියන හැටි මුනුපුරෙක් බලා ගෙන උන්නා. කිරි අම්මා ලිවුවේ ලස්සන පැන්සලකින්.

කිරි අම්මා ලියන හැටි බලා ගෙන සිටි මුනුපුරා කිරි අම්මාගෙන් මෙහෙම ඇහුවා.

“කිරි අම්මා ඔය ලියන්නේ අපි කරපු දේවල් ගැන ද? මං ගැනත් ලියනවා ද?”

කිරි අම්මා ලිවීම නවත්තලා මුනුපුරාට මෙහෙම කිවුවා.

“ඇත්තටම මං ලියන්නේ ඔයා ගැන තමා. ඒත් ඒ ලියන වචනවලට වැඩිය මං පාවිච්චි කරන මේ පැන්සල වටිනවා. ඔයා ලොකු වුණා ම මේ පැන්සල වගේ වෙයි කියලා මං හිතනවා.”

"මොකද්ද ඒ කතාවේ තේරුම?" මුනුපුරා පුදුම වෙලා පැන්සල දිහා බැලුවා. ඒකෙ කිසිම අමුත්තක් එයා දැක්කෙ නෑ.

"ඕක මං දැකලා තියෙන ඕනෑ ම පැන්සලක් වාගෙයි නේ!" කියා මුනුපුරා කිවුවා.

"ඒ ඔයා ඒක දිහා බලන හැටියටයි. ටිකක් හිතලා බලන්නකො. පැන්සලක තියෙනවා ගුණාංග පහක්. ඔයාත් ඒ ගුණාංග පහ පුරුදු පුහුණු කළොත් ඔයාත් අනාගතයේ දී හොඳ මනුස්සයෙක් වෙයි."

"අනේ කිරි අම්මෙ, කියන්නකො හොඳ මනුස්සයෙක් වෙන්න ඕනෑ කරන ඒ ගුණාංග පහ මොනවා ද කියලා."

කිරි අම්මා පැන්සලේ ගුණ කියන්න පටන් ගත්තා.



### පළමුවැනි ගුණාංගය

පැන්සලකින් ලියන්න නම් ඒක අල්ලා ගන්න අතක් ඕනෑ. පැන්සලකට බෑ තනියෙන් ලියන්න. කාගෙ හරි අතක් ඕනෑ ඒක අල්ලා ගන්න. අන්න ඒ වගේ වැඩවල දී සහයෝගයෙන් කටයුතු කරන්න ඔයා ඉගෙන ගන්න ඕනෑ. එතකොට තමයි ඔයා කරන දේ සාර්ථක වෙන්නේ.

දෙවැනි ගුණාංගය

ලියන කොට ලියන කොට පැන්සලේ තුඩ මොට වෙනවා. එහෙම වුණා ම ලිවීම නවත්තලා ඒක ආයෙත් උල් කර ගන්න ඕනෑ. උල් කරන කොට පැන්සලට ටිකක් රිදේවි. ඒත් ඊට පස්සෙ ඒක වඩාත් හොඳින් ලියාවි. ඒ වගේ ඔයාටත් ඉඳහිට සුළු සුළු දුක් වේදනා ඉවසා ගන්ට සිදු වේවි. හැබැයි ඊට පස්සෙ ඔයා වඩාත් හොඳ කෙනෙක් වේවි.





තුන්වැනි ගුණාංගය

පැන්සලෙන් ලියන කොට මොකක් හරි වැරැද්දක් වෙන්න පුළුවන්. එහෙම වුණොත් මකා ගන්න පුළුවන්. අන්න ඒ වගේ ඔයා අතින් වැරැද්දක් වුණොත් ඒක හදා ගන්න ඕනෑ. වැරැද්දක් හදා ගැනීම නරක දෙයක් නොවෙයි. අපිට හරි පාරේ යෑමට ඒක උදවු වේවි.



### හතරවැනි ගුණාංගය

පැන්සලේ වටිනා ම කොටස මොකක් ද? එළියෙ පෙනෙන්න තියෙන හැඩරුව ද? පාට ද? නෑ, ඒ එකක් වත් නොවෙයි, ඒක ඇතුළෙ තියෙන මිනිරන් කූරයි. අන්න ඒ වගේ ඔයාගේ වටිනා ම කොටස ඔයාගේ පෙනුමවත් හමේ පාටවත් නෙමේ. ඔයා තුළ තිබෙන හොඳ ගතිගුණයි.

### පස්වැනි ගුණාංගය

පැන්සලෙන් යමක් ලිවුවා ම ඒ ලියාපු දේ ඉතුරු වෙනවා. අන්න ඒ වගේ ඔයා යමක් කළා ම ඒ කරපු දේත් ඉතුරු වෙනවා. ඒ නිසා ඔයා කරන හැම දෙයක් ම කල්පනාවෙන් කරන්න.



මේ අදහස් උපුටා ගත්තේ පාවුලෝ කොයියෝ (Paulo Coelho) නම් බ්‍රසීල ලේඛකයාගේ **ගලන ගඟ වගේ** (Like the Flowing River) නම් ඉංග්‍රීසි පොතේ ‘පැන්සලේ කතන්දරය’ (The Story of the Pencil ) නම් පරිච්ඡේදයෙන්.

ඒ පහට තවත් ගුණාංගයක් එක් කරන්න පුළුවන්.



හයවැනි ගුණාංගය තමා පැන්සලේ හැඩය. පැන්සල හරි කෙළින්. ඉදිකටුවක් වගේ. ඔබත් පැන්සලක් වගේ හරි කෙළින් ඉන්න, කෙළින් කටයුතු කරන්න. වංක නොවී අවංක වෙන්න.

(මහාචාර්ය ජේ. බී. දිසානායකගේ පරිවර්තනය ඇසුරෙනි.)

## අවබෝධය

1. පාඩම කියවා උත්තර දෙන්න.

   i. පැන්සලේ කතන්දරය සඳහන් මුල් කෘතියේ නම කුමක් ද?

   ii. පාඩමට අනුව පැන්සලේ ගුණාංග කීය ද?

2. පාඩමේ සඳහන් පිළිවෙළට ඒ ඒ ගුණාංගයට අදාළ අංකය ඉදිරියෙන් යොදන්න.

| | |
|---|---|
| සහයෝගයෙන් වැඩ කිරීම | |
| වැරදි නිවැරදි කර ගැනීම | |
| හොඳ ගතිගුණ | |
| අවංක වීම | |
| හොඳ කල්පනාවෙන් කටයුතු කිරීම | |
| ඉවසීමෙන් කටයුතු කිරීම | |

## ක්‍රියාකාරකම 1

පෙරළි කොමා (“ ”) යෙදී ඇති වාක්‍ය තුනක් පාඩමෙන් තෝරා ලියන්න.

## ක්‍රියාකාරකම 2

පැන්සලක් සතු යහපත් ගුණාංග තවත් තිබේ දැයි කණ්ඩායම් එකතු වී සාකච්ඡා කර, පන්තියට ඉදිරිපත් කරන්න.

# 9 නුවණැති නායකයා

යටගිය දවස බරණැස් නුවර එක් සිටුවරයෙක් වාසය කළේ ය. වෙළෙඳාමෙන් ජීවත් වූ ඔහු, පන්සියයක ගැල් කණ්ඩායමක් සමග ගමින් ගමට ගොස් විවිධ භාණ්ඩ විකුණුවේ ය. මේ ගැල් කණ්ඩායමේ නායකයා වූයේ සිටුවරයා ය.

දිනක් මේ නායක සිටුතුමා තම ගැල් කණ්ඩායම සමග වෙළඳාම් පිණිස ඈත ප්‍රදේශයකට ගියේ ය. එය කලින් නොගිය ප්‍රදේශයකි. ඒ යන අතරමග මහා වනාන්තරයක් විය. එය විශාල ගස්වලින්, සුවඳවත් මල්වලින් පිරී ගිය වනාන්තරයකි. වනාන්තරයට ඇතුළු වීමට පෙර නායක සිටුතුමා තම ගැල්කරුවන් අමතා අවවාදයක් දුන්නේ ය.

“මේ වනාන්තරයෙහි විෂ සහිත ගස් ඇත. විෂ සහිත ඵල ඇත. විෂ සහිත මල් ඇත. විෂ සහිත කොළ ඇත. ඒ නිසා මා හට නොපෙන්වා කිසිවක් අනුභව නොකළ යුතු ය.”

ගැල් කණ්ඩායම වනාන්තරයේ කෙළවරට පැමිණියේ ය. ඒ ආසන්නයේ තිබුණේ ගම්මානයකි. ගැල් කණ්ඩායම දැකුම්කලු විශාල වෘක්ෂයක් දුටුවේ ය. එය අඹ ගසක් හා සමාන ය. ඒ ගසේ ගෙඩි අඹ ගෙඩි හා සමාන ය. කොළ ද අඹ කොළ හා සමාන ය.

සුවඳ ද අඹ සුවඳ ම ය. ගස ගෙඩිවලින් පිරී තිබුණේ ය. කෑදර වූ කිහිප දෙනෙක් එම ගසේ ගෙඩි කඩා ගෙන කෑවෝ ය. එහෙත් සමහර අයට නායක සිටුතුමාගේ අවවාදය සිහිපත් විය. ඔවුහු ගෙඩි කිහිපයක් කඩා ගෙන නායක සිටුතුමා වෙතට ගොස් මෙසේ ඇසූහ.

"නායක සිටුතුමනි, මේ අඹ වර්ගය අනුභව කළාට වරදක් නැද්ද?"

නායක සිටුතුමා ගස ළඟට පැමිණ ගස ද ඵල ද හොඳින් පරීක්ෂා කළේ ය. අනතුරුව මෙසේ ප්‍රකාශ කළේ ය.



"මෙය අඹ ගසක් මෙන් පෙනුණත් අඹ ගසක් නො වේ. මෙය විෂ සහිත ගසකි. මෙම ගෙඩිවල නම 'කිම්ඵල'යි. කිම්ඵල විෂ සහිත නිසා මරණය පවා සිදු විය හැකියි. ඔබ කඩා ගත් ගෙඩි වහා ඉවත දමන්න."

ගෙඩි අත තිබූ අය වහා ඒවා ඉවත දැමූහ. ඇතැමුන් ගෙඩි අනුභව කළ බව නායක සිටුතුමාට දැන ගන්නට ලැබිණි.

"මේ ගෙඩි අනුභව කළ අයට වහා ම වමනය කරවන්න. ඒ අයට ඖෂධ ලබා දෙන්න."

නායක සිටුතුමා අණ කළේ ය. සෙසු අය ඒ ආකාරයට කටයුතු කළ බැවින් ගෙඩි කෑ අය සුවපත් වූහ.

රාත්‍රිය ගත වී පසු දිනය උදා වුණේ ය. උදෑසනින් ම ගම්වැසියෝ මේ වෘක්ෂය අසලට දුවගෙන ආහ. “මට ගැල්” ය, “මට ගවයින්” ය, “මට වස්තුව” ය, කියමින් ඔවුහු ගැල්, ගවයින් හා වස්තුව බෙදා ගැනීමට සැරසුණහ. එහෙත් දුටු දෙයින් ඔවුහු විස්මයට පත් වූහ.



ගැල්කරුවන් කිසිවකු මිය ගොස් නැත. ඔවුන්ට කිසිදු උවදුරක් වූ වගක් පෙනෙන්නට ද නැත. ඔවුහු හොඳින් තම වැඩපල කරමින් ගමනට සූදානම් වෙමින් සිටියහ.

කලින් වතාවල දී වෙළෙඳාමේ ආ ගැල්කරුවෝ ද මෙතැන නවාතැන් ගත්හ. ඔවුහු කිම්ඵල අනුභව කොට මිය ගියහ. අනතුරුව අසල ගම්මානයේ අය පැමිණ ඔවුන් සතු සියලු වස්තුව, ගැල් සහ ගවයින් ද රැගෙන ගියහ.

"ඔබ මේ ගසේ ගෙඩි අනුභව නොකළේ ඇයි? ඒවා විෂ සහිත බව දැන ගත්තේ කෙසේ ද?" ගම්වැසියෝ ගැල්කරුවන්ගෙන් විමසූහ.

"මේ ගසේ ගෙඩි විෂ සහිත බව නායක සිටුතුමා දැන ගත්තා. ඒ නිසා අප බේරුණා" ගැල්කරුවෝ පිළිතුරු දුන්හ. ගම්වැසියෝ නායක සිටුතුමා හමුවට ගියහ.

"ඔබතුමා මෙය විෂ සහිත ගසක් බව දැන ගත්තේ කෙසේ ද?"

ගම්වැසියෝ නායක සිටුතුමාගෙන් විමසූහ.

නායක සිටුතුමා මෙසේ පිළිතුරු දුන්නේ ය.

"කරුණු කිහිපයක් නිසා මේ ගස විෂ සහිත බව දැන ගතිමි. පඩි පෙළක් මෙන් අතු විහිදී ඇති මේ ගසට කාට වුවත් පහසුවෙන් නැගිය හැකි යි. එසේ ම මේ ගස ඇත්තේ ගමක් ආසන්නයේ යි. එහෙත් ගසෙහි ඉදුණු ගෙඩි පිරී ඇත. ඉදී වැටුණු, නරක් වුණු ගෙඩි ගස යට ද පිරී ඇත. ඒ, ගම්වැසියන් මේ ගසේ ගෙඩි නොකන නිසා ය. ඔවුන් ඒවා නොකන්නේ විෂ සහිත නිසා බව සිතුවෙමි."

වස්තුව බෙදා ගැනීමට ආ ගම්වැසියන්ට හිස් අතින් ආපසු යන්නට සිදු විය. නායක සිටුතුමාගේ නුවණ නිසා ගැල්කරුවෝ තම ජීවිත බේරා ගත්හ.

**(ඵල ජාතකය ඇසුරෙනි)**

## අවබෝධය

1. පාඩම කියවා ප්‍රශ්නවලට උත්තර දෙන්න.

    i. නායක සිටුතුමා ගැල් කණ්ඩායමට දුන් අවවාදය කුමක් ද?

    ii. ‘කිම්ඵල’ නම් ගෙඩි වර්ගය සමාන වන්නේ මොන පලතුරට ද?

    iii. ගැල් කණ්ඩායම අසලට පැමිණි ගම්වැසියන් විස්මයට පත් වූයේ ඇයි?

    iv. ගැල් නායකයා ගස විෂ සහිත බව දැන ගත්තේ කෙසේ ද?

    v. මේ කතාවෙන් ඔබේ ජීවිතයට ගත හැකි ආදර්ශ මොනවා ද?

## ක්‍රියාකාරකම 1

සමාන තේරුම දෙන වචනය කොටුවෙන් තෝරා ලියන්න.

වෘක්ෂය..........................

වනාන්තරය....................

ගැල .........................

උවදුර.........................

දැකුම්කලු....................

ඖෂධ.........................

විස්මය ..........................

| |
|---|
| කැලෑව |
| කරත්තය |
| කරදරය |
| ලස්සන |
| ගස |
| පුදුමය |
| බෙහෙත් |

## ක්‍රියාකාරකම 2

හොඳ නායකයකු සතු ගුණාංග පිළිබඳ කණ්ඩායම් සාකච්ඡාවක නිරත වන්න. හඳුනා ගත් ගුණාංග පන්තියට ඉදිරිපත් කරන්න.

## ක්‍රියාකාරකම 3

ශ, ෂ, ස යෙදෙන වචන පාඩමෙන් තෝරා වගුගත කරන්න.

| ශ | ෂ | ස |
|---|---|---|
| | | |

# 10 සවනිගේ දිනපොතෙන්

## මාර්තු 02 සෙනසුරාදා



කතන්දර පොතක් කියවන්න ගත්තා. පිටුවෙන් පිටුව කියවන්න ආසයි. ඊළඟට මොකක් වෙයිද කියලා හිතාගන්නත් බැහැ. පොත එක හුස්මට කියෙවුවා. කතාව හරි ලස්සනයි. ඒ පොතේ නම 'කුඩා හොරා'. මා කියවූ පොත් ලැයිස්තුවට ඒ කතන්දර පොතේ නමත් ලියා ගත්තා.

## මාර්තු 03 ඉරිදා



ගෙදර ඇවිත් රචනාවක් ලියන්න වුණා. 'කුරුලු ලෝකය' ගැන. හොඳ ම රචනාව බිත්ති පුවත්පතට තෝරා ගන්නවා කිව්වා. මම පිරිසිදුවට පැහැදිලි අකුරින් රචනාව ලිව්වා. අකුරක් නෑර ආයෙත් කියෙවුවා. වැරැද්දක් තිබුණේ නැහැ. හෙට ඉස්කෝලෙට ගෙනියනවා.



## මාර්තු 04 සඳුදා

බිත්ති පුවත්පතට තේරුණේ මගේ රචනාව තමයි. මගේ මූණේ මලක් පිපුණා වගේ. ගෙදර ගියේ ඒ ගැන අම්මාට කියන්න. මාමාත් අපේ ගෙදර ඇවිත් හිටියා. දෙන්නාට ම මම රචනාව ගැන කිවුවා. ඒ අයත් සතුටු වුණා.

## මාර්තු 05 අඟහරුවාදා



ඉස්කෝලෙ ඇරිලා ගෙදර එද්දි ළමයෙකුට කෙසෙල් ලෙල්ලක් පෑගුණා. ළමයා ලිස්සලා වැටෙන්න ගිහින් අනූනාමයෙන් බේරුණේ.

පාරේ කෙසෙල් ලෙලි දාන්න හොඳ නැති බව ගුරුතුමිය දවසක් කිවුවා. මට ඒ වෙලාවේ ඒක මතක් වුණා. මම ඉක්මනට දුවලා ගිහින් ඒ කෙසෙල් ලෙල්ල ළඟ තිබුණු කසළ බඳුනට දැම්මා.

ගෙදර ඇවිත් මම ඒ සිද්ධිය චිත්‍රයට නැගුවා. මාමාට පෙන්නුවා. පාට කරලා පත්තරේට යවමු කියලා මාමා කිවුවා. මට හරි සතුටුයි. මම චිත්‍රය පාට කළා.

## මාර්තු 06 බදාදා

ගස්මල් අඹරමින් සුළඟ හැමුවා. අහස අඳුරු වුණා. එකපාරට ම හයියෙන් වහින්න ගත්තා. විදුලි එළි අහසෙ විහිදුණා. මහ හඬින් ගෙරෙවුවා. එළියට බහින්නවත් බැහැ. මාමා ගමේ යන්න පාන්දරම සූදානම් වුණා. “මේ මොර සූරන වැස්සෙ කොහෙද යන්න ද” කියලා නැන්දා මාමාගෙන් ඇහුවා.

වැස්ස පෑවුණා ම මාමා ගමේ ගියා. මාත් ඉස්කෝලෙ ගියා.



## අවබෝධය

1. හිස්තැනට වඩාත් සුදුසු යෙදුම වරහන් තුළින් තෝරා ලියන්න.

(එක හුස්මට, අකුරක් නෑර, ඉහේ මලක් පිපුණා, අනූ නවයෙන් බේරුණි, මොර සූරන වැස්සේ)

i. අයියා ළිඳ ළඟ වැටෙන්නට ගොස් ................................

ii. ගුරුතුමිය ළමයින්ගේ රචනා ........................................ කියවූවා ය.

iii. බලු පැටියා කෝප්පයේ තිබූ කිරි ටික ............................ බිවුවේ ය.

iv. තාත්තා නංගිට බෝනික්කෙක් ගෙනාවේ ය. නංගිගේ ...................................................... වගේ පෙනුණි.

v. ............................................................. පැමිණි මාමා ගෙට ගොඩ වූයේ හොඳට ම තෙමී ගෙන ය.

## ක්‍රියාකාරකම 1

**පහත සඳහන් ඉඟි වැකි යොදා වාක්‍ය නිර්මාණය කරන්න.**

i. එක හුස්මට
ii. අකුරක් නෑර
iii. ඉහේ මලක් පිපුණා
iv. අනූනවයෙන් බේරුණා
v. මොර සූරන වැස්ස

## ක්‍රියාකාරකම 2

**පුංචි ඔබත් ඔබේ එදිනෙදා ජීවිතයේ විශේෂ සිදුවීම් දිනපොතක ලිවීම අද සිට ආරම්භ කරන්න.**

# 11 ටිං ටිං ගාන්නා තෝරා එවන්නේ

තේරවිලි කියවා රසවිඳීමටත්, ඒවා විසඳීමටත් බොහෝ දෙනා කුඩා කල සිට කැමැත්තක් දක්වති. විවේකය ප්‍රයෝජනවත් ලෙස යොදා ගැනීමට හා විනෝදයට අතීතයේ දී තේරවිලි භාවිත කර ඇත. ඒවා පරිසරය පිළිබඳ දැනුම මෙන් ම භාෂා දැනුම වර්ධනය කර ගන්නට ද උදවු වෙයි.



තේරවිලි වර්ග කිහිපයක් තිබේ. සරල තේරවිලි, තුන් තේරවිලි, පද පෙරළි, තේරවිලි කවි වශයෙනි.

සරල තේරවිලි තෝරා පිළිතුරු සොයා ගැනීම පහසු ය. තේරවිල්ලට හොඳින් සවන් දී පිළිතුරු ලබා දීම මෙහි දී සිදු වේ. **නූල් බැඳි අහස් යානාව** යන්න සරල තේරවිල්ලකි.

මෙහි පිළිතුර කුමක් විය හැකි ද? අහස් යානාව ගුවනේ ගමන් කරයි. එයට නූල් බඳින්නේ නැත. එසේ නම් නූල් මගින් අහසේ පා කරන්නේ කුමක් ද? මේ කියන්නේ සරුංගලය ගැනයි.

තුන් තේරවිලි ද තවත් තේරවිලි වර්ගයකි. ඉදිරිපත් කරන තේරවිල්ල පියවර තුනක දී විසඳා අවසන් පිළිතුර ලබා ගැනීම මෙහි දී සිදු කෙරෙයි.

**ගොහොරු වේල්ල** තුන් තේරවිල්ලකි. එය,

ගොහොරු නම් මඩ

වේල්ල නම් **කණ්ඩිය**

මඩ කණ්ඩිය - **කඩ මණ්ඩිය** ලෙස පිළිතුර ලැබේ.



මේ සඳහා වචන පිළිබඳ දැනුමත් පද පෙරළීමේ කුසලතාවත් තිබිය යුතු ය.

**ගජනාළය** ද තුන් තේරවිල්ලකි.

ගජ නම් ඇත්

නාළය නම් බටය

ඇත් බටය - **බත් ඇටය**



පද හතරකින් යුත් තේරවිලි කවි තවත් තේරවිලි වර්ගයකි. ඒවා තාලයකට ගායනා කළ හැකි ය. එබඳු ඇතැම් තේරවිලි කවිවලට

පිළිතුරු කවි ද ඇත. පහත දක්වෙන්නේ එබඳු තේරවිලි කවියකි.

**තේරවිලි කවිය**

ටිං ටිං ගාන්නා තෝරා　　　එවාපන්
ටං ටං ගාන්නා තෝරා　　　එවාපන්
මග වැලි පිසින්නා තෝරා　　　එවාපන්
දෙගම්බඩ රජා තෝරා　　　එවාපන්



**පිළිතුරු කවිය**

ටිං ටිං ගාන්නා ලේනා　　　නොවේ දෝ
ටං ටං ගාන්නා ගෝණා　　　නොවේ දෝ
මග වැලි පිසින්නා කුකුළා　　　නොවේ දෝ
දෙගම්බඩ රජා කිඹුලා　　　නොවේ දෝ

සතුන්ගේ හඬ, ගමන් කරන ආකාරය, හැසිරීම් රටා ආදිය පිළිබඳ අවබෝධය ඉහත තේරවිල්ලෙහි පිළිතුර සොයා ගැනීමට උපකාරි වෙයි.

මේ එවැනි තවත් තේරවිල්ලකි.

**තේරවිලි කවිය**

ඉණේ තිබෙන ලිය තෝරා එවාපන්
ගෙදර තිබෙන ලිය තෝරා එවාපන්
ගසේ තිබෙන ලිය තෝරා එවාපන්
අතු අග තිබෙන ලිය තෝරා එවාපන්

**පිළිතුරු කවිය**

ඉණේ තිබෙන ලිය හැඹිලිය නොවේ දෝ
ගෙදර තිබෙන ලිය ඇතිළිය නොවේ දෝ
ගසේ තිබෙන ලිය හෙරලිය නොවේ දෝ
අතු අග තිබෙන ලිය අරලිය නොවේ දෝ

සිතීමේ හැකියාව දියුණු කර ගැනීමට තේරවිලි උපකාර වේ. අතීතයේ මෙන් ම වර්තමානයේ ද තේරවිලි නිර්මාණය වෙයි. ඔබටත් විනෝදජනක ක්‍රීඩාවක් ලෙස තේරවිලි ඉදිරිපත් කිරීම හා විසඳීම යොදා ගත හැකි ය. අලුත් තේරවිලි නිර්මාණය ද අපූරු අද්දැකීමක් වනු ඇත.

## අවබෝධය

1. පාඩම කියවා උත්තර දෙන්න.

   i. තේරවිලි වර්ග තුනක් නම් කරන්න.

   ii. පියවර තුනක දී විසඳා අවසන් පිළිතුර ලබා ගත හැකි තේරවිලි වර්ගය කුමක් ද?

2. නිවැරදිව යා කරන්න.

| | |
|---|---|
| ඉණේ තිබෙන ලිය | ඇතිළිය |
| ගෙදර තිබෙන ලිය | හැඹිලිය |
| ගසේ තිබෙන ලිය | අරලිය |
| අතු අග තිබෙන ලිය | හෙරලිය |

## ක්‍රියාකාරකම 1

පහත දක්වා ඇත්තේ අලුතෙන් නිර්මාණය කරන ලද තේරවිලි කවියකි. එයට සුදුසු පිළිතුරු කවියක් නිර්මාණය කරන්න.

ඉගෙනුම ලබන සල තෝරා　　　　එවන්නේ
සිතුවම් අඳින සල තෝරා　　　　එවන්නේ
අකුරු ලියන සල තෝරා　　　　එවන්නේ
රජුන් විසූ සල තෝරා　　　　එවන්නේ

## ක්‍රියාකාරකම 2

කණ්ඩායම්වලට බෙදී තේරවිලි තරගයක් පවත්වන්න.

# 12 පිරුළක මිහිර

අපේ සීයා කතන්දර කීමට සමතෙකි. සීයාගේ කතන්දර ඇසීමට මා පමණක් නොව, ගෙදර අනෙක් අය ද ඉතා කැමැත්තෝ ය.

"සීයේ, සීයේ, අදත් කතන්දරයක් කියන්නකෝ." නංගී අයැද සිටියා ය.



"හා, හොඳයි. මම අද කියන්නේ උපහැරණ කතා. ඒ කියන්නේ ප්‍රස්තාව පිරුළු හැදෙන්න පදනම් වෙච්ච කතා."

"ප්‍රස්තාව පිරුළු කියන්නේ මොනවා ද සීයේ?"

"ප්‍රස්තාව පිරුළු කියන්නේ තැනට ගැළපෙන විදිහට කතා බහේ දී කියන උපමාවලට."

"එතකොට ප්‍රස්තාව පිරුළුවලින් සීයා කොහොම ද කතාවක් කියන්නේ" මල්ලී ඇසී ය.

“සමහර ප්‍රස්තාව පිරුළු හැදිලා තියෙන්නේ කුමක් හෝ කතාවක් මුල් කර ගෙන යි.”

**ආඬි හත් දෙනාගේ කැඳ හැළිය වගේ** කියන ප්‍රස්තාව පිරුළ හැදුණු හැටි තමයි අද මම කියන්න යන්නේ. ඒක හරි අපූරු කතාවක්.”

“ඉස්සර කාලේ ලංකාවේ ‘ආඬි ගුරුන්’ කියලා කට්ටියක් හිටියා. දවසක් ආඬි ගුරුන් හත් දෙනෙක් ගමනට අවශ්‍ය ජාතිත් අරගෙන දුර ගමනක් යන්න පිටත් වුණා.

මේ අය අතරමගදි අම්බලමක නතර වුණා. හැමෝම රාත්‍රි ආහාරයට කැඳ හදන්න කතිකා කර ගත්තා. එක ආඬි ගුරුන්නාන්සේ කෙනෙක් වතුර හැළියක් ළිපේ තියලා ‘කැඳට අවශ්‍ය හාල් මිට ගානේ හැළියට දමමු’ කියලා අනෙක් අයට යෝජනා කළා.

හැමෝම හාල් දානවා කියලා මිට මොළවා හැළියට අත දැම්මට හාල් දැම්මේ නෑ. හත් දෙනා ම එකිනෙකා රවටන්න හිතාගෙන බොරුවට අත දැම්මා.



ඊට පස්සේ කැඳ බොන්න හදන කොට උණු වතුර විතරයි හැළියේ තිබුණේ. හැම දෙනා ම රැවටුණා.

එදා ඉඳන් අනුන් රවටන්න ගිහින් තමන් රැවටුණු වේලාවට **ආඬි හත් දෙනාගේ කැඳ හැළිය වගේ** කියලා කියනවා.”

"එතකොට සීයේ, **කළුවා මාරපන ගියා වගේ** කියන්නේ ඇයි?" අයියා ඇසුවේ ය.

"කළුවා මාරපන ගියා වගේ කියන්නෙත් අපූරු ප්‍රස්තාව පිරුළක් තමයි." සීයා සිනා සෙමින් කීවේ ය.

"එකෝමත් එක කාලෙක නිවසක කළුවා කියලා සේවකයෙක් හිටියා. මේ සේවකයාට දවසක් ස්වාමියා කිවුවා 'කළුවෝ මාරපන ගිහින් වරෙන්' කියලා. කළුවා ඒක ඇසුණ ගමන් මාරපන යන්න පිටත් වුණා. ස්වාමියා මාරපන යන්න අවශ්‍ය කාරණාව කියන්න බලන කොට කළුවා ගෙදර නැහැ. හවස් වෙලා කළුවා ගෙදර ආවා.



'කොහෙද කළුවො ගියේ?' ස්වාමියා කළුවාගෙන් ඇහැවුවා.

'ඇයි මට කිවුවා නේ මාරපන යන්න කියලා. ඒ නිසා මම මාරපන ගියා' කළුවා කිවුවා.

ස්වාමියාටත් බිරිඳටත් දෙන්නාට ම ඒකට හිනා ගියා."

"කිසි ම දෙයක් සොයන්නෙ බලන්නේ නැතිව කරන වැඩ දැක්කා ම **කළුවා මාරපන ගියා වගේ** කියලා මිනිස්සු කියනවා."

"කැකිල්ලේ රජ්ජුරුවන්ගේ නඩු තීන්දුව වගේ ප්‍රස්තාව පිරුළටත් කතාවක් තියෙනවා නේ ද, තාත්තේ?"

පැත්තකට වී සීයාගේ කතාවලට සවන් දුන් තාත්තා ඇසුවේ ය.

"කතා එකක් නොවෙයි පුතා ගොඩක් තියෙනවා. ඒවා කියනවා නම් එළිවෙනකල් කියන්න පුළුවන්." සීයා ආඩම්බරයෙන් කීවේ ය.

"කවුරු හරි මෝඩ තීරණයක් ගත්තොත් උපහැරණෙට කියන්නෙ 'කැකිල්ලෙ රජ්ජුරුවන්ගෙ නඩු තීන්දුව වගේ' කියල යි. කැකිල්ලෙ රජ්ජුරුවො එහෙම තීන්දු තීරණ ගත්ත කෙනෙක් ලු.

එක උදාහරණයක් විතරක් මං කියා දෙන්නම්.



දවසක් වරදකාරයෙක් අල්ල ගන්න රජතුමා රාජපුරුෂයෝ පිටත් කළා. 'වරදකරුවා ගෙදර නැහැ' කියලා රාජපුරුෂයෝ ඇවිත් රජතුමාට කිවුවා.

'වරදකරුවා ගෙදර නැති නම් අල්ලපු ගෙදර මිනිහව කුදලාගෙන එනු!' කියලා රජතුමා අණ කළා.

රාජපුරුෂයෝ අල්ලපු ගෙදර මිනිහා අල්ලාගෙන ආවා. ඔහුව එල්ලන්න රජතුමා අණ කළා.

ඒ මනුස්සයා බොහොම කෙට්ටු ශරීරයක් තියෙන මිනිහෙක්. ඒ නිසා එල්ලුම් ගහේ තොණ්ඩුවට අහු නො වී වැටුණා. ඒ මිනිහා කෙට්ටු වැඩි නිසා එල්ලන්නට නො හැකි බව රාජපුරුෂයෝ රජතුමාට දැන්නුවා. 'එසේ නම් ඒ වෙනුවට මහත මනුස්සයෙක් ගෙනත් එල්ලා දමනු!' කියා රජතුමා අණ කළා.

ඔය විදිහෙ මෝඩ නඩු තීන්දු තමයි කැකිල්ලෙ රජ්ජුරුවෝ අරන් තියෙන්නේ. ඒ නිසා කවුරු හරි දුරදිග නොබලා මෝඩ තීන්දුවක් ගන්න කොට **කැකිල්ලෙ රජ්ජුරුවන්ගේ නඩු තීන්දුව වගේ** කියලා කියනවා."

"එතකොට සීයේ, **ඉඟුරු දීලා මිරිස් ගත්තා වාගෙයි** කියන්නේ ඇයි?" මම සීයාගෙන් ඇසීමි.

"ඒකත් ප්‍රස්තාව පිරුළක් තමයි. ඒක පාවිච්චි වෙන්න ගත්තේ රාජසිංහ රජ්ජුරුවන්ගේ කාලෙ ඉඳලා.

රාජසිංහ රජ්ජුරුවො රට බේරා ගැනීම සඳහා පෘතුගීසීන් එක්ක දරුණු ලෙස සටන් කළා. ගන්නොරුව සටන එයින් එකක්. ඒ සටනින් රජතුමා ජය ගත්තා. ඒත් මුහුදුබඩ පළාත්වලින් පෘතුගීසීන් එළවා දාන්න රජතුමාට බැරි වුණා. රජතුමා ඒකට උපායක් යෙදුවා. ලන්දේසීන්ට පණිවිඩ යවලා ලන්දේසීන් ලවා පෘතුගීසීන් මුහුදුබඩ පළාත්වලින් එළවා දැමුවා. ඒත් ඊළඟට ලන්දේසීන් මුහුදුබඩ අල්ලා ගත්තා. පෘතුගීසීන්ට වඩා ලන්දේසීන්ගෙන් කරදර වුණා.

එක කරදරයකින් බේරෙන්න ගිහින් රජතුමාත් රටත් තවත් කරදරයක වැටුණා. '**ඉඟුරු දී මිරිස් ගත්තා** වගේ වැඩක් නේ මට වුණේ' කියලා රජතුමාට කියවුණා. එතැන් පටන් සිංහලයෝ **ඉඟුරු දී මිරිස් ගත්තා වාගේ** කියන උපහැරණේ කියන්න ගත්තා ලු."

"හරි අපූරු කතාවක් නේ!" මට කියවුණේ ඉබේට ම ය.

"කටුස්සාගේ කරේ රත්තරන් බැන්දා වගෙයි කියලා මං අහල තියෙනවා. සීයේ, ඒ කතාව මොකක් ද?"

"ඔව්, ඒ කතාව තියෙන්නේ උම්මග්ග ජාතකයේ. ඉස්සර කාලේ වේදේහ කියලා රජ කෙනෙක් හිටියා.

මේ රජතුමා මහෞෂධ පඬිතුමා එක්ක උයනට ගියා. උයනේ ඉදිරිපස තොරණ උඩ සිටි කටුස්සෙක් රජතුමා දැක බිමට බැස පසෙකින් සිටියා. රජතුමා කටුස්සා කළ දේ ගැන පඬිතුමාගෙන් ඇසුවා. රජතුමාට ගෞරව කිරීමට කටුස්සා එසේ කළ බව පඬිතුමා කිවුවා.

සතුටට පත් රජතුමා කටුස්සාට වටිනා යමක් දෙන්න යැයි කිවුවා. කටුස්සාට වටිනා වස්තුවකින් ප්‍රයෝජන නැති බවත් කෑමට යමක් දීම වඩාත් සුදුසු බවත් මහෞෂධ පඬිතුමා පැහැදිලි කළා. කටුස්සාට දිනපතා ම රත්තරන් වී ඇට දෙකහමාරක් වටිනා මස් දීමට රජතුමා සේවකයකුට නියෝග කළා.



එක පෝය දවසක කටුස්සාට දෙන්න මස් නැති වුණා. සේවකයා කටුස්සාට මස් නො දී වී ඇට දෙකහමාරක රත්තරන් කටුස්සාගේ කරේ එල්ලුවා.

එදා රජතුමා උයනට එන කොට කටුස්සා තොරණෙන් බැස්සේ නැහැ. තොරණ උඩ ඉඳගෙන ම ඔළුව වැනුවා. 'ඒ ඇයි?' කියලා රජතුමා පඬිතුමාගෙන් ඇහුවා. පඬිතුමා වෙච්ච සිද්ධිය කිවුවා.

නුසුදුසු අයට සම්මාන දුන්නා ම ඔවුන් උඩගු වන බව මේ සිද්ධිය නිසා රජතුමා තේරුම් ගත්තා.

තමන්ට ලැබෙන දේවල්වලින් අහංකාර වෙන්නේ මෝඩ අය. ඒ වාගේ අහංකාර වෙන අය දැක්කා ම **කටුස්සාගේ කරේ රත්තරන් බැන්දා වගේ** කියලා මිනිස්සු කියනවා.”

## අවබෝධය

1. පාඩම කියවා උත්තර දෙන්න.

   i. ප්‍රස්තාව පිරුළු යනු මොනවා ද?

   ii. අතීතයේ මිනිසුන් දුර ගමන් යන අතරමග නවාතැන් ගත්තේ කොහේ ද?

   iii. ‘ඇයි මට කිවුවා නේ මාරපන යන්න කියලා. ඒ නිසා මම මාරපන ගියා’ මේ ප්‍රකාශය කළේ කවුද?

   iv. රාජසිංහ රජතුමා කරදරයකින් බේරීමට සිතා කළ දෙයින් මුහුණ පෑමට සිදු වූ අනෙක් කරදරය කුමක් ද?

   v. කටුස්සාට වටිනා වස්තුවකින් ප්‍රයෝජන නැති බව මහෞෂධ පඬිතුමා කීවේ ඇයි?

## ක්‍රියාකාරකම 1

**පහත දැක්වෙන වාක්‍යවලට ගැළපෙන පිරුළු පාඩමෙන් තෝරා ලියන්න.**

1. නුසුදුසු පුද්ගලයන්ට තනතුරු වරප්‍රසාද හිමි වීම නිසා අහංකාර වීම
2. එක කරදරයකින් නිදහස් වීමට සිතා කරන කටයුත්තකින් තවත් අපහසුතාවට පත් වීම
3. අනුන් රැවටීමට ගොස් තමා ද රැවටීමට ලක් වීම
4. කරුණු සොයා නො බලා නුසුදුසු තීරණ ගැනීම
5. විමසා බැලීමකින් තොරව කටයුතු කිරීම

## ක්‍රියාකාරකම 2

**ගුරුතුමා/ගුරුතුමියගේ මග පෙන්වීම යටතේ පන්තිය කණ්ඩායම් පහකට බෙදී පහත දැක්වෙන ක්‍රියාකාරකමේ නිරත වන්න.**

පාඩමේ සඳහන් ප්‍රස්තාව පිරුළු කණ්ඩායමට එක බැගින් බෙදා ගන්න.

තම කණ්ඩායමට ලැබුණු ප්‍රස්තාව පිරුළට අදාළ සිද්ධියක් නිර්මාණය කර ගන්න.

එය පන්තිය ඉදිරියේ රඟ දක්වා, ඊට අදාළ ප්‍රස්තාව පිරුළ විමසන්න.

# 13 රාධාට ලියුමක්

නිවසේ දී ය,
2019.02.08

වාසනා වේවා!

ආදරණීය රාධා,

ඉතිං කොහොම ද තොරතුරු? අපි නම් සුවෙන් ඉන්නවා. ඔයාගෙ අලුත් යාළුවෝ හොඳ ද? අපේ පන්තියේ යාළුවෝ ඔයා ගැන තවමත් මතක් කරනවා.

අපේ අම්මා මට බෝනික්කෙක් ගෙනාවා. මම එයාට 'පිංකි' කියලා නම දැම්මා. ඒත් අපේ මල්ලී බෝනික්කන්ට කැමති නැහැ. එයාට ඕනෑ සෙල්ලම් කාර්. ඒ වුණාට එයා පිංකිගේ ගවුම් මහන්න මට උදවු කරනවා.

ඔයා නිසා මට දැන් දෙමළත් පුළුවන්. තාත්තා කිවුවා අවුරුද්දට ඔයාලාගේ ගෙදර එනවා කියලා. අපි එදාට කෝවිලටත් යමු. අපේ අම්මායි, තාත්තායි, මල්ලීයි කෝවිලට යන්න ආසයි. ඒ දවස උදා වෙන තුරු මම මග බලා ගෙන ඉන්නේ.

ඔබ සැමට ජය වේවා!

ඔබේ හිතාදර,
සවන්



‘සවනිගෙන් ලියුමක්.’ රාධාගේ මුහුණේ සිනාවක් මතු විය.

‘කොහොම ද එයා මගේ ලිපිනය හොයා ගෙන තියෙන්නේ? ආ... අපේ මාමාට කොළඹ දි සවනිගේ තාත්තා හමු වෙලා තිබුණා නේ. එදා මාමාගෙන් ඉල්ලා ගන්න ඇති.

ලියුමක් ලියන හැටි ගුරුතුමී කියලා දුන්න එක කොච්චර හොඳයි ද? විස්මයාදි ලකුණ මම දැන ගත්තෙත් එදා. මමත් උත්තරයක් ලියන්න ඕනෑ’. හොඳ ආශීර්වාදයක් ලියන හැටි අක්කාගෙන් අහගන්න ඕනෑ.” රාධා කල්පනා කළා ය.

“කාගෙන් ද දුව ලියුම?”

“සවනිගෙන්. ඒ ගොල්ලො අවුරුද්දට මෙහේ එනවා ලු.”

“කොච්චර හොඳයි ද? දුවත් උත්තරයක් ලියන්න.”

“ඔව්, මං දැන් ම ලියනවා.”

## අවබෝධය

1. පාඩම කියවා ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. සවනි ලියුම ලිවුවේ කාට ද?

   ii. ලිපිය ආරම්භයේ දී යෙදූ ආශීර්වාදය කුමක් ද?

   iii. සවනි බෝනික්කාට තැබූ නම කුමක් ද?

   iv. බෝනික්කාට ගවුම් මහන්න උදවු කළේ කවුද?

   v. සවනි දෙමළ ඉගෙන ගෙන ඇත්තේ කාගෙන් ද?

## ක්‍රියාකාරකම 1

1. පෞද්ගලික ලිපියක අඩංගු මූලික අංග මොනවා ද?

2. ඔබ කැමති අයකුට යැවීම සඳහා පෞද්ගලික ලිපියක් ලියන්න. දෙමව්පියන්ගේ හෝ ගුරුවරයාගේ සහාය ඇතිව ලිපිය තැපැල් කරන්න.

## ක්‍රියාකාරකම 2

ගැළපෙන වචන යොදා හිස්තැන් පුරවන්න.

| ස්ත්‍රී ලිංග නාම පද | පුරුෂ ලිංග නාම පද |
|---|---|
| අම්මා | ............................. |
| ............................. | මල්ලී |
| ............................. | මාමා |
| අක්කා | ............................. |
| දුව | ............................. |

# 14 රබන් වයමු - දෝං තා

රබාන වාදන භාණ්ඩයකි. රබානෙන් වාදනය කරන පද ‘රබන් පද’ ලෙස හැඳින්වේ. රබාන වාදනය කිරීම හෙවත් ‘රබන් ගැසීම’ අපේ පැරණි ජන ක්‍රීඩාවකි.

අතීතයේ අප රට වැසියෝ මඟුල් ගෙවල්වල රබන් වයා විනෝද වූහ. සිංහල අවුරුදු කාලයට රබන් වයමින් නැටූහ. අතීතයේ ආගමික උත්සවවල දී ද රබන් වැයූ බව අප අසා තිබේ. මේ සඳහා භාවිත කරන ලද්දේ මහ රබාන හෙවත් බංකු රබාන යි. රබාන ‘එකැස් බෙරය’ නමින් ද හඳුන්වා තිබේ.

රබන් පද වාදනය මෙන් ගායනය ද විනෝදජනක ය. රබන් පද ගායනා කර එය වාදනය කරන අයුරු පෙන්වීම ඇතැමුන්ට විනෝදයකි. මේ පාඩමට ඇතුළත් වන්නේ එවැනි රබන් පද කිහිපයකි.

ගඟෙන් එගොඩ ගඟ අසබඩ
ගසක පැණි දොඩම්
තක දොං ගසක පැණි දොඩම්
තක දොං....
ගසක පැණි දොඩම්

තාක්ක දොං දොං - තාක්ක දොං දොං
තේක්ක මල් පිපිලා
ඔන්න බලන් සකි - මෙන්න බලන් සකි
පාරට අතු නැමිලා

වමත හුරුැයි - දෝං තා
දකුණ හුරුැයි - දෝං තා
වමත හුරුැයි - දකුණ හුරුැයි
දෙක ම හුරුැයි - දෝං තා



රන් රඹුටන් ගස් දෙක යට
ගිනි කුකුළන් පස් දෙන යි
උන්ට කන්න බත් දෙන විට
උනුත් එක්ක ලස්සන යි

අපේ ගෙදර තුන් දෙන යි
උඩහ ගෙදර තුන් දෙන යි
පහළ ගෙදර තුන් දෙන යි
තුන් පොළේ ම නව දෙන යි

රෑන ගිරවු නටතෙයි ගුඳං ගුඳ
පේර දොඩම් වැටෙතෙයි විටිං විට
පේර දොඩම් වැටෙතෙයි

## අවබෝධය

1. පාඩම කියවා ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. රබන් වාදනය කරන අවස්ථා මොනවා ද?

   ii. රබාන හැඳින්වීමට යොදා ගත් වෙනත් නමක් පාඩමෙන් උපුටා දක්වන්න.

   iii. පාඩමෙහි කියැවෙන ජන ක්‍රීඩාව කුමක් ද?

## ක්‍රියාකාරකම 1

කණ්ඩායම්වලට බෙදී එක් කණ්ඩායමක් ගායනා කරන රබන් පද අනෙක් කණ්ඩායම වාදනය කරන්න.

## ක්‍රියාකාරකම 2

ඔබත් රබන් පදයක් නිර්මාණය කරන්න. එය පන්තියට ඉදිරිපත් කරන්න.

# 15 පොත් ගුල් මැදිරිය

සිසිර ඉසුඹුවට පසු සිසුහු පාසල වෙත පැමිණියහ. විස්මිත දෙයක් දක්නට ලැබී ඔවුහු සතුටෙන් කෑ ගසන්නට වූහ. පන්ති කාමර මැදිරි පෙළට විරුද්ධ පැත්තෙන් රුස්වීම් හල අසල මල් පාත්ති පසු පස, නව මැදිරිය නැඟී සිටියේ ය. ඔවුන් නො සිටි දිනවල එය පොත් ගුලක් බවට පෙරළී තිබිණ. සියලු ම දෙනා ගරු කළ, හැම වැඩක් ම කිරීමට සමත් මුරකරු වූ රියෝ චං බොහෝ වෙහෙස මහන්සි වී වැඩ කර තිබිණි. පොත් රාක්ක විශාල ගණනක් සවි කොට, සියලු ම වර්ගවල වර්ණවත් පොත් පේළිවලින් ඒවා පුරවා තිබිණ. හිඳ ගෙන කියැවීම සඳහා පුටු සහ මේස තබා තිබිණි.



"මේ ඔයාලාගේ පොත් ගුල" මුල් ගුරුතුමා කීවේ ය. "මේ ඕනෑ ම පොතක් ඕනෑ ම අයකුට කියවන්න පුළුවන්. සමහර පොත් සමහර පන්තිවලට වෙන් කර ඇතැයි බය වෙන්න ඕන නෑ. ඔයාලා කැමැති ඕනෑ ම වෙලාවක මෙහි එන්න පුළුවන්. පොතක් ලබා ගෙන ගෙදර යන්න ඕනෑ නම්, ඒකටත් අවසර තියෙනවා. හැබැයි, කියවා අවසන් වූ හැටියේ ම, ඒක ආපසු ගෙනැවිත් බාර දෙන්න ඕනෑ. ඔයාලාගේ ගෙවල්වලත් පොත් ඇති. ඒවා කියවන්න අනෙක් අයත් ආසයි. ඒ නිසා ඔයාලා ළඟ තියෙන පොතුත් මෙහේ ගෙන එන්න. ඔයාලට පුළුවන් තරම් වේගයෙන් හැකි තරම් පොත් කියවන්න."

"අද පුස්තකාල පන්තියක් කරමු." ළමයි එක හඬින් කීහ.

"ඔයාලා කැමැති එහෙම ද?" මුල් ගුරුතුමා විමැසුවේ ය. පිනා සිටි ළමයින් දෙස බලා, "හරි හරි, එහෙම කරමු" යි කීවේ ය.

එවිට ම ටොමෝවේ සිසු කැලත ම - පනස් දෙනා ම, පොත් ගුල් මැදිරිය තුළ රොක් වූහ. තම තමන් කැමැති පොත් රැගෙන ඔවුහු හිඳ ගැනීමට පොර කෑහ. එහෙත් අඩකට වඩා ආසන නො වී ය. අසුන් නොලද්දෝ සිට ගෙන උන්හ. එය හරියට ම මගීන් සිට ගෙන පොත් කියවන තදබද දුම්රිය මැදිරියක් වැනි විය. එය පියකරු දසුනක් වූයේ ය.





සිසුහු බොහෝ සේ පිනා ගියහ. ටොට්ටෝ චංට තාමත් හොඳින් කියවීමට අපහසු නිසා, ඇය පින්තූර සහිත රසවත් යැයි පෙනී ගිය පොතක් ගත්තා ය. හැම සිසුවකු ම අතෙහි පොතැතිව පිටු පෙරළන්නට වූ විට, හදිසියේ ම මැදිරිය නිහඬ විය. එහෙත් බොහෝ වේලාවකට නො වේ. හඬ රැසක් නිහඬතාව බින්දේ ය. සමහරුන්ට පොත් මාරු කර ගැනීමට අවශ්‍ය විය. මැදිරිය සිනාවෙන් පිරී ගියේ ය.

'ගයනා සිතුවම්' නමැති පොතක් කියැවීම ඇරැඹූ සිසුවෙක් කිංකිණි නාදයෙන් ගීයක් ගයන්නට විය.

"වට එකක් සහ තිතක් වට එකක් සහ තිතක්<br>
නාසයට, සිවු ඉරක් වට එකක් සහ තිතක්<br>
කෙස් තුනක් කෙස් තුනක් හහහා! කෙස් තුනක්<br>
ඇසි පියක සැණෙින් එයි තරබාරු ලිය හිසක්!"

කුඩා වට තුන විශාල වටයකින් වට කළ යුතු වූ අතර, අඩ වට තුනක් ඇසි පිය හෙළන සැණින් ඇඳිය යුතු විය. සියල්ල නිවැරදිව කළ හැකි වී නම් කාන්තාවකගේ පැරණි කොණ්ඩා මෝස්තරයක් ලැබෙනු ඇත.



**හරි පුදුම ඉස්කෝලෙ**

ටෙට්සුකෝ කුරොයානගී

පරිවර්තනය - ලීලානන්ද ගමාච්චි

## අවබෝධය

1. පාඩම කියවා අසා ඇති ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. සිසිර ඉසුඹුවට පසු පාසලට පැමිණි සිසුන් සතුටෙන් කෑගැසුවේ ඇයි?

   ii. රියෝ චං වෙහෙස වී කර තිබූ කාර්යය කුමක් ද?

   iii. “මේ ඔයාලගේ පොත් ගුල” යයි කිවුවේ කවුද?

   iv. මුල් ගුරුතුමා සිසුන්ට දුන් උපදේශ තුනක් ලියන්න.

   v. ටොමෝවේ සිසුන් පනස් දෙනා ම පොත් රැගෙන හිඳ ගැනීමට පොර කෑවේ ඇයි?

## ක්‍රියාකාරකම 1

1. ඔබ කියවූ පොතක කතන්දරයක් පන්තියට ඉදිරිපත් කරන්න. පොතේ කතුවරයාගේ නම ද කියන්න.

2. පුස්තකාලයට ගිය විට දී අනුගමනය කළ යුතු යහපත් හැසිරීම් දෙකක් ලියන්න.

3. පුස්තකාලයකින් අපට ලැබෙන ප්‍රයෝජන දෙකක් ලියන්න.

## ක්‍රියාකාරකම 2

1. ඔබ කතන්දර පොතක් කියවූ පසු එහි තොරතුරු පහත තේමා යටතේ සටහන් කර ගන්න. ඒ ඇසුරෙන් ඔබ කියවූ කතන්දර පොත් පිළිබඳ තොරතුරු යහළුවන් සමග හුවමාරු කර ගන්න.

    - පොතේ නම
    - පොතේ කර්තෘ
    - පොතේ චරිත
    - පොතෙන් ගත හැකි ආදර්ශ

2. ඔබ කියවූ වෙනත් පොත්වල තොරතුරු පහත තේමා යටතේ සටහන් කර ගන්න.

    - පොතේ නම
    - පොතේ කර්තෘ
    - මුද්‍රිත වර්ෂය
    - පොතේ ඇති විශේෂ කරුණු

# 16 පුංචි කැකුළු මල්

පුංචි ළමයි මල් වගේ ය. මල් වුව ද පැහැයෙන්, හැඩයෙන්, සුවඳින් වගේ ම නමින් වෙනස් ය. පුංචි අපි ඒ පිපෙන මල් වගේ වෙමු. විලේ, වැලේ හෝ කැලේ පිපුණ ද මේ පුංචි කැකුළු මල් රටට වටිනා සම්පතකි. පහත දැක්වෙන්නේ ශ්‍රී ලංකා ගුවන්විදුලි සේවයේ අධ්‍යාපන සේවයේ තේමා ගීතය යි. ආචාර්ය සුනිල් සරත් පෙරේරා මහතා රචනා කළ මේ ගීයේ සංගීතය නිර්මාණය කළේ ආචාර්ය ඩබ්ලිව්. ඩී. අමරදේව සූරීන් ය.

රටට පිපෙන මල් වැනි වූ පුංචි අපි මේ ගීතය එකට එක් වී ගායනා කරමු; රස විඳිමු; අරුත් තේරුම් ගනිමු.



මනකල් හද විල් තලයෙහි
පිපි නිවහල් මල්
රටට පිපෙන මල් අපි වෙමු
පුංචි කැකුළු මල්

විලට පිපුණු මල් විල මැද
නිල් මහනෙල් මල්
වැලට පිපුණු මල් වැල මත
කුන්ද සමන් මල්

ගුමු ගුමු ගීයට මිහිලොල්
නැළවෙන වන මල්
ගෙලට බැඳෙන මල්
ලක් මව රුව සරසන මල්



## අවබෝධය

1. පාඩම කියවා උත්තර දෙන්න.

   i. රටට පිපෙන මල් කියන්නේ කාට ද?

   ii. ගීතයේ කියවෙන විලේ පිපුණු මල් වර්ගය මොනවා ද?

   iii. ගුමු ගුමු ගීතය ගයන්නේ කවුරු ද?

   iv. ලක් මව කියන්නේ කාට ද?

## ක්‍රියාකාරකම 1

1. මේවාට අර්ථයෙන් සමාන පද ගීතයෙන් සොයා ලියන්න.

   i. මී මැස්සෝ -
   ii. නිදහස් -
   iii. සිත්කලු -
   iv. බෙල්ල -

2. 'රටට පිපෙන මල් අපි වෙමු' යන මාතෘකාව යටතේ නිර්මාණාත්මක වාක්‍ය පහක් ලියනන.

3. පන්ති සමිතියක දී මෙබඳු ළමා ගීත ගායනා කරන්න. වාදනයට ආදේශ වාද්‍ය භාණ්ඩ යොදා ගන්න.

# 17 මුහුදු වෙරළ හා මුහුදු සත්තු

මූදු වෙරළේ සෙල්ලම් කිරීමට ළමයි ඉතා ආශා ඇත්තෝ ය. සමහර ළමයි රළ පාගමින් වෙරළේ ඔබ මොබ දුවති. වෙරළට ළංව බිඳ වැටෙන රළයක් වේගයෙන් ගොඩට දිවෙයි. රළ පාගමින් සිටින ළමයි ද රළයට අසු වී ඇඳුම් තෙමෙතැයි බයෙන් වහ වහා වෙරළට දුවති. රළය බිඳ වැටීමෙන් ගලන වතුරෙන් කොටසක්, තීන්ත පොවන කඩදාසියක් තීන්ත උරා ගන්නාක් මෙන්, බුරුල් පස් අතරින් පොළොව උරා ගනියි. ඉතුරු වන වතුර වහ වහා ආපසු මූදට ම ඇදී යයි. ළමයි ද ප්‍රීතියෙන් බැස යන වතුර පාගමින් දුවති.



සමහර ළමයි වෙරළේ ඇවිදිමින් සිප්පි කටු, කවඩි, හක්කැට හා බට්ටන් අවුල අවුලා ඔඩොක්කුවල පුරවා ගනිති. නැති නම් කොට්ට උරවල දමා ගනිති. බට්ටා කවුරුත් අඳුනති. එය හැඩහුරුකමින් හා පාටින් ද සියඹලා ඇටයක් වැන්න. එසේ වුව ද බට්ටා සියඹලා ඇටයකට වඩා ලොකු ය. බට්ටෝ ගඟබඩවල ගස්වල එතෙමින් දුවන වැල්වල හට ගන්නා ඇට වගයකි. බට්ටන් මූදට ලැබෙන්නේ කෙසේ ද? නටු පර වීමෙන් හෝ සුළඟින් හෝ ගිළිහී වැටෙන බට්ටෝ ගඟේ පාවෙති. ගඟේ වතුර මූදට වැටෙන කල බට්ටෝ ද ඒ සමග නැවත මූදට පාවෙති. මූදේ වැටුණු කල රළ බිඳ වැටීම නිසා බට්ටෝ වෙරළේ ගොඩ ගැසෙති.



බට්ටෝ



සිප්පි කටු හා කවඩි ආදිය

සිප්පි කටු හා කවඩි මූද වමාරන දේ ය. සිප්පි කටු හා කවඩි, වැල්වල හෝ ගස්වල හටගන්නා දේ නොවන බැව් කවුරුත් දනිති. එසේ වුව ද මේ කුඩා ගෙවල නවාතැන් ගෙන සිටි සතුන්ට කුමක් වී දැයි බොහෝ ළමයි නො දනිති. පාර අයිනේ පාළු ගෙයක් දකින්නට ලැබුණොත් එහි වරක් මිනිසුන් වාසය කළ බව කුඩා ළමයකුට වුවත් වහා ම කල්පනා වේ. මූදු වෙරළේ ගොඩ ගැසෙන සිප්පි කටු කවඩි යන ආදිය පාළු ගෙවල් වැන්න. ඒ ගෙවලට ද අපට කියා දෙන්නට එක එක කතාව බැගින් ඇත්තේ ය. සිප්පි කටු කතා කරත් නම් ඔවුහු කොතරම් දුක් මුසු කතා අපට කියත් ද?

ඉස්සර කාලේ ගස් ගල් කතා කළ බව පුරාණ ජන කතාවලින් ප්‍රකාශ වේ. මූදු වෙරළේ සිප්පි කටුවලටත් කවඩින්ටත් කතා කරන්නට පුළුවන් නම් ඉස්සර කාලේ ගස් ගල් කළැයි කියන කතාවලට වඩා පුදුම කතා අපට අසන්නට ලැබෙනු නිසැකයි. ළමයින් අවුලන සිප්පි කටු අතුරින් අපි එකක් තෝරා ගනිමු. එය හැඩහුරුකමින් සීනි පිට්ටු අච්චුවක පියනක් වැන්න. නැති නම් කිරි ගොටුවක් වැන්න. හැඩහුරුකමින් එසේ වුවත් පාටින් හා පෙනුමෙන් ඒ දෙකට ම වඩා ශෝභන ය. මේ සිප්පි කටුව සමහර පළාත්වල ගෑනු අය හුනු දමන කිල්ලෝට පියනක් මෙන් පාවිච්චි කරති. මේ බෙලි කටුවක් හැඩහුරුකමින් කිරි ගොටුවක් වැන්නැයි කීවේ මුණින් නැමූ කිරි ගොටුවෙහි මැද තුඩ වැනි උස් වූ තුඩක් එහි ද ඇති බැවිනි. කතා කළ හැකි නම් බෙලි කටුව මෙසේ කියනවා ඇත.

> "මම ගල් පරයක ඇලී ජීවත් වුණෙමි. ගලේ සෑදෙන පෙඳ සෙවෙල් මට ආහාර විය. මගේ දිවෙන් ගලේ පෙඳ සෙවෙල් පීරිගාගෙන කෑමට මම රෑ කාලයේ ඇවිද්දෙමි. කෑම සෙවීමට කොතැනකට ගියත් ආපසු පළමු සිටි තැනට ම යාම මගේ සිරිතයි. කාටවත් හිංසාවක් පීඩාවක් නො කොට ගල උලා කමින් ජීවත් වන නමුත් මටත් මගේ ජාතියේ අනික් ඇත්තන්ටත් බොහෝ සතුරෝ සිටිත්. ඇතැම් පක්ෂීහු අහසින් බැස තුඩෙන් ඇන අප ගසා ගෙන ඉගිළ යෙති. ගලක් උඩ තියාගෙන මස් ටික කා අපගේ පොතු බිම දමති. කකුළුවා ද අපේ සතුරෙකි. ඌ රෑ කාලයේ අප සොයා ඇවිත් අඬුවලින් අල්වා ඇද ගලවා කට දික් කොට මස් ටික කා දමයි. බූවල්ලා ද අපේ සතුරෙකි. මොවුන් හැර තවත් අපට බොහෝ සතුරෝ සිටිති. මා මරා මදය කෑවේ බූවල්ලෙකි."

බෙලි කටුව කතා කරයි නම් මෙබඳු ශෝකජනක කථාවක් අපට කියනු සැක නැත. හුලස් හැඩය ඇති බෙලි කටුවට පමණක් නොව අනික් බෙලිකටුවලට ද මෙබඳු කතාන්දරය බැගින් කියන්නට ඇත්තේ ය. වෙරළේ ගොඩ ගැසෙන බෙලිකටු හා කවඩි, මූදේ අනික් සතුන්ට ගොදුරු වන බෙල්ලන්ගේත් කවඩින්ගේත් කටු ය.

විද්‍යා විනෝද කතා v
මාර්ටින් වික්‍රමසිංහ

## අවබෝධය

1. පාඩම කියවා පහත සඳහන් ප්‍රශ්නවලට උත්තර දෙන්න.

   i. රළ පාගමින් සිටි ළමයින් වහ වහා වෙරළට ගියේ ඇයි?

   ii. තීන්ත පොවන කඩදාසියක් තීන්ත උරා ගන්නාක් මෙන් පොළොව උරා ගන්නේ මොනවා ද?

   iii. වෙරළේ ඇවිද ගිය ළමයින් ඔඩොක්කුවල පුරවා ගත්තේ මොනවා ද?

   iv. බෙල්ලන්ගේ ආහාර මොනවා ද?

   v. “ ‘සිප්පි කටු’ හා ‘කවඩි’ මූද වමාරන දේ ය” යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද?

## ක්‍රියාකාරකම 1

ගැළපෙන වචනය වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.

(සෙල්ලම් කරති, සැරිසැරුවෙමි, ගත්තෙමු, පියඹා යති)

1. ගලේ පෙඳ සෙවෙල් පීරිගාගෙන කෑමට මම රෑ කාලයේ ..............................
2. ඇතැම් පක්ෂීහු අහසින් බැස තුඩෙන් ඇන, අප ගසා ගෙන .............................
3. ළමයි ප්‍රීතියෙන් බැස වතුර පාගමින් .......................................
4. අපි සිප්පි කටු අතුරින් එකක් තෝරා .....................................

## ක්‍රියාකාරකම 2

1. "මම මුහුදු වෙරළ වෙමි." මාතෘකාව යටතේ නිර්මාණාත්මක වැකි 5ක් ලියන්න.
2. වර්තමාන කාල ක්‍රියා පද සහිත වාක්‍ය පහක් පාඩමෙන් තෝරා ලියන්න.

## ක්‍රියාකාරකම 3

පාඩමෙන් තෝරා වගුව සම්පූර්ණ කරන්න.

| ස්ථාන නාම | සත්ත්ව නාම | පුද්ගල නාම | ද්‍රව්‍ය නාම |
|---|---|---|---|
| | | | |

# 18 සමනොළ කන්ද මුදුනේ අපි ඉර දැක්කා

රේබා අරුණගේ නංගී ය. ක්‍රිස්ටීන් හා බ්‍රයන්, අක්කා සහ මල්ලී වෙති. ඒ දෙන්නාත් රාධා සහ ෆාතිමාත් අරුණලාගේ අසල්වැසියෝ වෙති. මේ සියලු දෙනා ම කොළඹ පාසලක ඉගෙන ගන්නා හොඳ ම යහළුවෝ වෙති. පාසල් නිවාඩුවට මේ කවුරුත් තම පවුලේ අය සමග අරුණගේ ආත්තම්මාගේ ගෙදර ගියහ. අරුණගේ ආත්තම්මා සිටින්නේ රත්නපුරයේ ය.

රත්නපුරය ප්‍රධාන නගරයකි. උස් කඳු වැටි, සීත දිය ඇලි සහිත මේ ප්‍රදේශයේ මැණික් ගරන තැන් ද බහුලව දකින්නට ඇත.

කොළඹ යෑමට පෙර සියලු දෙනා ම සමනොළ කන්ද නැරඹීමට කැඳවාගෙන යෑමට ආත්තම්මා තීරණය කළා ය. ඇගේ යෝජනාව අනුව අරුණගේ බාප්පා මේ නඩයට සෑහෙන බස් රථයක් සූදානම් කළේ ය. ආත්තම්මා ශ්‍රී පාදස්ථානය ගැන ළමයින්ට කරුණු කියා දී තිබිණි. ඒ නිසා ළමා, තරුණ, වැඩිහිටි කොයි කවුරුත් ආත්තම්මාගේ අණ පිළිපැද ගමන ආරම්භ කළහ. “පලක් නැති දේ කතා කිරීම ඇඟට ගුණ නැහැ” කියා ආත්තම්මා ළමයින්ට කිවුවා ය. ඒ නිසා කවුරුත් අනවශ්‍ය දේ කතා කිරීමට බිය වූහ. මේ පාර කපා ඇත්තේ ඝන කැලෑවක් මැදින් යැයි තාත්තා කීවේ ය.

සීත ගඟුල පෙනෙන තෙක් මානයේ දී සියලු දෙනාට ම තද සීතල පවා අමතක විය. හැමෝම සීත ගඟුලෙන් ස්නානය කර, අදාළ වත් පිළිවෙත් ඉටු කොට ඉඳිකටුපාණ වෙත ළඟා වූහ. කිරිකෝඩු අය වත් පිළිවෙත් කළෝ ය. මුල් වරට සිරිපා කරුණා කරන ළාබාල අය හැඳින්වෙන්නේ 'කිරිකෝඩු' යනුවෙනි. ළමයි පඩි ගණිමින් කන්ද නැග්ගාහ.



"වඳින්න යන මේ නඩේට මේ තුන් සරණේ සරණයි!" යනුවෙන් වැඳ බසින නඩයක් අරුණලාගේ නඩයට ආශීර්වාද කළහ. ඊට

පිළිතුරු ලෙස ඔවුහු ද "වැඳලා බහින මේ නඩේට මේ තුන් සරණේ සරණයි!" යනුවෙන් ප්‍රතිචාර දැක්වූහ. සීතලට උණුහුම් වීමට කියා ගෙදරින් ගෙනා අග්ගලා ටික ආත්තම්මා නඩේ හැමෝට ම බෙදා දුන්නා ය.

උඩ මළුවට ළං වෙද්දී ඇසුණු සණ්ටාර ශබ්දයට සියලු දෙනා ම සාධුකාර දුන්හ. උඩ මළුවේ දී බෞද්ධයෝ දෙදණ සහ නළල බිම තබා සිරි පතුල නමස්කාර කළෝ ය. අනෙක් සියලු දෙනා ම භක්තිමත්ව තම තමන්ගේ ආගම් සිහි කළෝ ය. නැවත මෙවැනි ගමනක් යෑමට සියලු දෙනා ම ප්‍රාර්ථනා කළෝ ය.

උදේ පාන්දර ඉර සේවාව නැරඹූ නිසා දෝ කාගේත් මුහුණු ඉර එළියෙන් ප්‍රබෝධවත් වී තිබිණි. එක ම පාසලේ අසල්වැසි යහළුවන් එකට එකතු වී ආ මේ ගමන ගැන කාටත් සතුටක් දැනිණි.



කඳු මුදුනේ දී නඩයේ සියලු දෙනා ම නිදහසේ අවට සිරි නැරඹූහ. අහසේ වලාකුළු පවා වෙනදාට වඩා ළඟ යැයි රාධා කිවුවා ය. ආත්තම්මා කියා දුන් කවි, කතා, ජන ප්‍රවාද ළමයින්ට මතක් විය.

"දැන් අපි ඉන්නේ හුඟාක් ඉහළින්. පහළ ලස්සනට පෙනෙනවා."

උඩ සිට පහළ බැලූ බ්‍රයන් ප්‍රීතියෙන් හඬ නැගී ය. ප්‍රමාණයෙන් කුඩාවට පෙනෙන ගහකොළ දෙස බලා ළමයි පුදුම වූහ.

මේ ගමනින් සතුටු වූ රාධාගේ මව සහ පියා, ලබන පාසල් නිවාඩුවේ දී යාපනයේ පිහිටි මිත්තණියගේ ගෙදර යාමට සියලු දෙනාට ම ආරාධනා කළෝ ය. කවුරුත් ඉතා සතුටින් ඒ ආරාධනය පිළිගත්හ.

## අවබෝධය

1. **පාඩම කියවා ප්‍රශ්නවලට උත්තර දෙන්න.**

   i. රත්නපුර ප්‍රදේශයේ බහුල වශයෙන් දක්නට ලැබෙන්නේ මොනවා ද?

   ii. ආත්තම්මාගේ තීරණය අනුව කොළඹ යැමට පෙර ළමයින් කැඳවා ගෙන ගියේ කොහාට ද?

   iii. උඩ මළුව වැඳ බසින නඩයක් අරුණලාගේ නඩයට ආශීර්වාද කළේ කෙසේ ද?

iv. සිරිපා ගමනේ දී පිරිස ස්නානය කළේ කොහේ දී ද?

v. උඩ මළුවේ දී සියල්ලන් ම කළ ප්‍රාර්ථනය කුමක් ද?

## ක්‍රියාකාරකම 1

අතීත කාල බහු වචන වාක්‍ය පහක් පාඩමෙන් තෝරා ලියන්න.

## ක්‍රියාකාරකම 2

ණ, න, ල, ළ යෙදුණු වචන පාඩමෙන් සොයා වගු ගත කරන්න.

| ණ | න | ල | ළ |
|---|---|---|---|
| | | | |

## ක්‍රියාකාරකම 3

සිරිපා කරුණාව ආරම්භ කර උඩ මළුවට යන අතරතුර හමු වන සුවිශේෂ ස්ථාන මොනවා දැයි වැඩිහිටියකුගෙන් අසා දැන ගන්න.